# භාවනා සහිත
# ආශීර්වාද සම්බුද්ධ වන්දනාව




සම්පාදකවරු

පූජ්‍ය වේරගොඩ සාරද නායක මහා ස්වාමීන්ද්‍රයන් වහන්සේ

පූජ්‍ය වේරගොඩ සුනන්දා භික්ෂුණිය

# භාවනා සහිත
# ආශීර්වාද සම්බුද්ධ වන්දනාව


**සම්පාදනය**

**පූජ්‍ය වේරගොඩ සාරද**
**නායක මහා ස්වාමීන්ද්‍රයන් වහන්සේ**
**පූජ්‍ය වේරගොඩ සුනන්දා භික්ෂුණිය**





ISBN: 978 – 955 – 54437 – 2 - 2

සිංගප්පූරු බෞද්ධ භාවනා මධ්‍යස්ථානය,
නොම්මර 1, ජලන් මස් පුටේ,
සිංගප්පූරුව 128607
ටෙලි +65 67783330 +65 94656570
weragodas1941@gmail.com

# පැවිදි දිවියේ 70 වෙනි වසර සමරන
# පූජ්‍ය වේරගොඩ සාරද නායක මහා ස්වාමීන්ද්‍රයන් වහන්සේ











''සබ්බ දානං ධම්ම දානං ජිනාති''
සියළුම දානයන්ට වඩා ධර්‍ම දානය උතුම් වේ.

සිංගප්පූරුවේ බෞද්ධ භාවනා මධ්‍යස්ථානාධිපති,
සිංගප්පූරුවේ, ප්‍රධාන සංඝනායක,
මාගේ ගුරු දේවයානන් වහන්සේ වූ
පූජ්‍ය වේරගොඩ සාරද නායක මහා ස්වාමීන්ද්‍රයන්
වහන්සේ ගේ පැවිදි දිවියට අවුරුදු 70ක් පිරීම
නිමිත්තෙන්

මෙම වටිනා සූත්‍ර දේශනාවන් සහිත ග්‍රන්ථය

''භාවනා සහිත ආශීර්වාද සම්බුද්ධ වන්දනාව''
මුද්‍රණය කර නොමිලේ බෙදා දෙන ලදි.

සමස්ත මානව ලෝකයාට බොදු දහම ව්‍යාප්ත කිරීමේ
උදාර කාර්යයෙහි දිගු කාලයක් නිරත වීමට පූජ්‍ය
වේරගොඩ සාරද නායක මහා ස්වාමීන්ද්‍රයන් වහන්සේට
ධෛර්යත්, ශක්තියත්, නිදුක් නිරෝගී භාවයත්,
දීර්ඝායුෂත්, ලැබේවා! යි ප්‍රාර්ථනා කරමි.

පූජ්‍ය වේරගොඩ සුනන්දා භික්ෂුණිය

02. 06. 2023

## පළමු කොටස (පූජා) 3 - 30



## දෙවන කොටස (භාවනා) 32 - 61

## තෙවන කොටස (සෙත් පිරිත්) 63 -109

# වන්දනා

**නමො තස්ස භගවතො අරහතො සම්මා සම්බුද්ධස්ස**
ඒ භාග්‍යවත් අර්හත් සම්මා සම්බුදුරජාණන් වහන්සේට මාගේ නමස්කාරය වේවා! (තෙවරක් කියන්න.)

# තිසරණ

**බුද්ධං සරණං ගච්ඡාමි**
(මම) බුදුරජාණන් වහන්සේ සරණ යමි.

**ධම්මං සරණං ගච්ඡාමි**
(මම) ශ්‍රී සද්ධර්මය සරණ යමි.

**සංඝං සරණං ගච්ඡාමි**
(මම) සංඝරත්නය සරණ යමි.

**දුතියම්පි බුද්ධං සරණං ගච්ඡාමි**
(මම) දෙවනුව ද බුදුරජාණන් වහන්සේ සරණ යමි.

**දුතියම්පි ධම්මං සරණං ගච්ඡාමි**
(මම) දෙවනුව ද ශ්‍රී සද්ධර්මය සරණ යමි.

**දුතියම්පි සංඝං සරණං ගච්ඡාමි**
(මම) දෙවනුව ද සංඝරත්නය සරණ යමි.

**තතියම්පි බුද්ධං සරණං ගච්ඡාමි**
(මම) තෙවනුව ද බුදුරජාණන් වහන්සේ සරණ යමි.

**තතියම්පි ධම්මං සරණං ගච්ඡාමි**
(මම) තෙවනුව ද ශ්‍රී සද්ධර්මය සරණ යමි.

**තතියම්පි සංඝං සරණං ගච්ඡාමි**
(මම) තෙවනුව ද සංඝරත්නය සරණ යමි.

## පන්සිල් සමාදන් වීම

**පාණාතිපාතා වේරමණී සික්ඛාපදං සමාදියාමි**
(මම) සතුන් මැරීමෙන් වැළකීමේ ශික්ෂාපදය සමාදන් වෙමි.

**අදින්නාදානා වේරමණී සික්ඛාපදං සමාදියාමි**
(මම) අන් අය සතු දේ සොරා ගැනීමෙන් වැළකීමේ ශික්ෂාපදය සමාදන් වෙමි.

**කාමෙසු මිච්ඡාචාරා වේරමණී සික්ඛාපදං සමාදියාමි**
(මම) කාමයෙහි වරදවා හැසිරීමෙන් වැළකීමේ ශික්ෂාපදය සමාදන් වෙමි.

**මුසාවාදා වේරමණී සික්ඛාපදං සමාදියාමි**
(මම) බොරු කීමෙන් වැළකීමේ ශික්ෂාපදය සමාදන් වෙමි.

**සුරාමෙරය මජ්ජපමාදට්ඨානා වේරමණී සික්ඛාපදං සමාදියාමි**

(මම) ප්‍රමාදයට හේතු කාරක වූ සුරාපානය කිරීමෙන් වැළකීමේ ශික්ෂාපදය සමාදන් වෙමි.

## බුදුන් වැඳීම

**ඉති'පි සො භගවා අරහං සම්මාසම්බුද්ධො විජ්ජාචරණ සම්පන්නො සුගතො ලොකවිදූ අනුත්තරො පුරිසදම්මසාරථී සත්ථා දේවමනුස්සානං බුද්ධො භගවා'ති**

ඒ භාග්‍යවතුන් වහන්සේ රහත් ය. සියලු ධර්‍මයන් මනා කොට දත් සේක. විද්‍යාචරණ සම්පන්නය. සුගතය. ලෝකවිදූය. අනුත්තර පුරිසදම්මසාරථිය. දෙව්මිනිසුන්ට ශාස්තෘය. බුද්ධය. භගවත් ය.

## දහම් වැඳීම

**ස්වාක්ඛාතො භගවතා ධම්මො සන්දිට්ඨිකො අකාලිකො එහිපස්සිකො ඔපනයිකො පච්චත්තං වෙදිතබ්බො විඤ්ඤූහී'ති**

භාග්‍යවතුන් වහන්සේ විසින් ධර්‍මය මනාකොට වදාරණ ලදි. එය එක් එක් තැනැත්තා විසින් සිය ප්‍රත්‍යවෙක්ෂා ඥානයෙන් අවබෝධ කොට ගත යුතුය. එහි ප්‍රතිඵල උපන් වහාම පලදෙන්නේ ය. අකාලිකය. පැමිණ බලව යන ඇරයුමට සුදුසු ය. එළඹීමට සුදුසු ය. නුවණැත්තන් විසින් තම තම නැණ පමණින් දත යුතුය.

## සඟුන් වැඳීම

**සුපටිපන්නො භගවතො සාවකසංඝො**
**උජු පටිපන්නො භගවතො සාවකසංඝො**
**ඤායපටිපන්නො භගවතො සාවකසංඝො**
**සාමීචි පටිපන්නො භගවතො සාවකසංඝො**
**යදිදං චත්තාරි පුරිසයුගානි අට්ඨ පුරිසපුග්ගලා**
**එස භගවතො සාවකසංඝො**
**ආහුනෙය්‍යො පාහුනෙය්‍යො දක්ඛිණෙය්‍යො**
**අඤ්ජලිකරණීයො අනුත්තරං පුඤ්ඤක්ඛෙත්තං**
**ලොකස්සා'ති**

භාග්‍යවතුන් වහන්සේගේ ශ්‍රාවක සඟරුවන මනාව පිළිපන්නේය. භාග්‍යවතුන් වහන්සේගේ ශ්‍රාවක සඟරුවන ඉදිපිළිවෙතට පිළිපන්නේ ය. භාග්‍යවතුන් වහන්සේගේ ශ්‍රාවක සඟ රුවන නැණ මගට පිළිපන්නේය. භාග්‍යවතුන් වහන්සේගේ ශ්‍රාවක සඟරුවන නිවනට අනුකූල වූ පිළිවෙතට පිළිපන්නේය. භාග්‍යවතුන් වහන්සේගේ ශ්‍රාවක සඟරුවන (සෝවාන් මග පිහිටියෝ ද සෝවාන් පලෙහි පිහිටියෝ ද) එක් සඟලෙක යන මේ පුරුෂ යුග සතරක් බැගින් අෂ්ඨ පුරුෂ පුද්ගලයෝ වන සේක. භාග්‍යවතුන් වහන්සේගේ ශ්‍රාවක සංඝ තෙමේ දුරිනුදු ගෙන හැර දියයුතු ප්‍රත්‍යයට සුදුසුය. ආගන්තුක සත්කාර පිළිගන්නට සුදුසුය. දක්ෂිණාවට සුදුසුය. සියලු ලෝ වැස්සන් විසින් දොහොත් මුදුනෙහි තබා කරන නමස්කාරයට සුදුසුය. පුණ්‍ය ක්ෂේත්‍ර භාවයට සුදුසුය. ලෝකයා ගේ උතුම් වූ පින්කෙතය.

# සතර කමටහන්

**නමාමි බුද්ධං ගුණසාගරන්තං**
**සත්තා සදා හොන්තු සුඛී අවෙරා**
**කායො ජිගුච්ඡො සකලො දුගන්ධො**
**ගච්ඡන්ති සබ්බෙ මරණං අහං ච**

ගුණ නම් වූ මහා සාගරයේ පරතෙරට ගියා වූ සම්මා සම්බුදුරජාණන් වහන්සේ වඳිමි.
සියලු සත්වයෝ සියලු කල්හි සැප ඇත්තෝ වෙත්වා.
වෛර නැත්තෝ වෙත්වා. මෙම කය පිළිකුල් ය. දුගඳ ය.
අන් සියල්ලන් සේම මම ද මරණයට පත් වේ.

**නමාමි ධම්මං සුගතෙන දෙසිතං**
**සත්තා සදා හොන්තු සුඛී අවෙරා**
**කායො ජිගුච්ඡො සකලො දුගන්ධො**
**ගච්ඡන්ති සබ්බෙ මරණං අහං ච**

බුදුරජාණන් වහන්සේ විසින් දේශිත ගුණ සයුරක් බඳු වූ ශ්‍රී සද්ධර්මය වඳිමි. සියලු සත්වයෝ සියලු කල්හි සැප ඇත්තෝ වෙත්වා. වෛර නැත්තෝ වෙත්වා. මෙම කය පිළිකුල් ය. දුගඳ ය. අන් සියල්ලන් සේම මම ද මරණයට පත් වේ.

**නමාමි සංඝං මුණිරාජ සාවකං**
**සත්තා සදා හොන්තු සුඛී අවෙරා**
**කායො ජිගුච්ඡො සකලො දුගන්ධො**
**ගච්ඡන්ති සබ්බෙ මරණං අහං ච**

බුදුරජාණන් වහන්සේගේ ආර්ය සංඝරත්නය වඳිමි. සියලු සත්වයෝ සියලු කල්හි සැප ඇත්තෝ වෙත්වා. වෛර නැත්තෝ වෙත්වා. මෙම කය පිළිකුල් ය. දුගඳ ය. අන් සියල්ලන් සේම මම ද මරණයට පත් වේ.

## පහන් පූජා කිරීම

**ඝන සාරප්පප දිත්තේන**
**දීපෙන තමධංසිනා**
**තිලොකදීපං සම්බුද්ධං**
**පූජයාමි තමොනුදං**

අඳුර දුරලන මේ පහනේ ආලෝකයෙන් කෙලෙස් අඳුර දුරුකළ තුන් ලොවට පහනක් බඳු බුදුරජාණන් වහන්සේ පුදමි.

## මල් පූජා කිරීම

**පූජෙමි බුද්ධං කුසුමෙන'නෙන**
**පුඤ්ඤෙදනමෙතෙ න ච හොතු මොක්ඛං**
**පුප්ඵං මිලායාති යථා ඉදං මෙ**
**කායො තථා යාති විනාස භාවං**

මම මේ මලෙන් බුදුරජාණන් වහන්සේ පුදමි. මේ පිනෙන් මට නිවන් සුව ලැබේවා. මේ මල් යම් සේ පරවී යයිද එසේ ම මාගේ ශරීරයත් විනාශයට පත් වී යයි.

## පැන් පූජා කිරීම

**අධිවාසෙතු නො භන්තෙ**
**පානීයං පරිකප්පිතං**
**අනුකම්පං උපාදාය**
**පතිගණ්හාතුමුත්තම**

භාග්‍යවතුන් වහන්ස, පිළිගැනුමට යෝග්‍ය වූ මේ පැන් අප කෙරෙහි අනුකම්පාවෙන් පිළිගෙන වදාරණ සේක්වා.

## ආහාර පූජා කිරීම

**අධිවාසෙතු නො භන්තෙ**
**භොජනං පරිකප්පිතං**
**අනුකම්පං උපාදාය**
**පතිගණ්හාතුමුත්තම**

භාග්‍යවතුන් වහන්ස, පිළිගැනුමට යෝග්‍ය වූ මේ ආහාර අප කෙරෙහි අනුකම්පාවෙන් පිළිගෙන වදාරණ සේක්වා.

## ගිලන්පස පූජා කිරීම

**අධිවාසෙතු නො භන්තෙ**
**ගිලානපච්චයං ඉමං**
**අනුකම්පං උපාදාය**
**පතිගණ්හාතුමුත්තම**

භාග්‍යවතුන් වහන්ස, පිළිගැනුමට යෝග්‍ය වූ මේ ගිලන්පස අප කෙරෙහි අනුකම්පාවෙන් පිළිගෙන වදාරණ සේක්වා.

## සුවඳ දුම් පූජා කිරීම

**ගන්ධ සම්භාර යුත්තෙන**
**ධූපෙනාහං සුගන්ධිනා**
**පූජයෙ පූජනීයන්තං**
**පූජාභාජනමුත්තමං**

පූජාවන්ට සුදුසු වූ පූජා ලැබුවා වූ උතුම් බුදුරදුන් හට මේ සුවඳ දුමින් පුදමි.

## ත්‍රිවිධ චෙතිය වන්දනා

**වන්දාමි චෙතියං සබ්බං**
**සබ්බඨානෙසු පතිට්ඨිතං**
**සාරීරිකධාතු මහාබොධිං**
**බුද්ධරූපං සකලං සදා**

සෑම තැන්හි පිහිටි සියලු චෛත්‍යයන් ද, ශාරීරික ධාතූන් වහන්සේලා ද, ශ්‍රී මහා බෝධීන් වහන්සේ ද, සියලු බුද්ධ ප්‍රතිමා වහන්සේලා ද, මම හැම කල්හි වඳිමි.

## බෝධි වන්දනා

**යස්ස මූලෙ නිසින්නො’ව**
**සබ්බාරි විජයං අකා**

**පත්තො සබ්බඤ්ඤුතං සත්ථා**
**වන්දෙ තං බොධිපාදපං**

යම් බෝ මුළක වැඩ හිඳ, සියළු සතුරු මුලු පරදවා සම්බුද්ධත්වයට පත් වූයේ ද ඒ බෝධීන් වහන්සේට නමස්කාරය වේවා.

**ඉමෙ එතෙ මහාබොධි**
**ලොකනාථෙන පූජිතා**
**අහංපි තෙ නමස්සාමි**
**බොධිරාජා නමත්ථු තෙ**

ලෝ නා හිමියන් විසින් පුදනු ලැබුවා වූ ඒ සා බලැති බෝධි රාජයාණන් වහන්සේ මම ද නමදිමි.

## දෙවියන්ට පින් දීම

**එත්තාවතා ච අම්හෙහි**
**සම්භතං පුඤ්ඤසම්පදං**
**සබ්බෙ දෙවා අනුමොදන්තු**
**සබ්බසම්පත්ති සිද්ධියා**

අප විසින් මෙසේ රැස් කරන ලද පුණ්‍ය සම්පත් සියළු සම්පත් හි අභිවෘද්ධිය සඳහා සියලු දෙවියෝ අනුමෝදන් වෙත්වා.

## ඤාතීන්ට පින් දීම

**ඉදං මෙ ඤාතීනං හොතු - සුඛිතා හොන්තු ඤාතයො**
(තෙවරක් කියන්න.)

මේ පින නෑයන්ට අත්වේවා. නෑයෝ ලොව්තුරා සුවයෙන් සුවපත් වෙත්වා.

## ප්‍රාර්ථනා

**ඉමිනා පුඤ්ඤකම්මෙන**
**මාමෙ බාල සමාගමො**
**සතං සමාගමො හොතු**
**යාව නිබ්බාන පත්තියා**

මෙම කුසලානුභාව බලයෙන් නිවන් දක්නා තුරු මා හට පාපමිත්‍ර සේවනයක් නොවේවා.

## ක්ෂමා කිරීම

**කායෙන වාචා චිත්තෙන**
**පමාදෙන මයා කතං**
**අච්චයං ඛම මෙ භන්තෙ**
**භූරිපඤ්ඤ තථාගත**

ම විසින් සිතින් හෝ කයින් හෝ වචනයෙන් හෝ යන තුන් දොරින් නොදැනුවත්ව සිදු කරන ලද යම් වරදක් වේ නම් ඒ වරදට බුදුරජාණන් වහන්සේ මට සමාව දෙන සේක්වා.



# මහා මංගල සූත්‍රය

**එවං මෙ සුතං: එකං සමයං භගවා සාවත්ථියං විහරති ජේතවනෙ අනාථපිණ්ඩිකස්ස ආරාමෙ අථ ඛො අඤ්ඤතරා දේවතා අභික්කන්තාය රත්තියා අභික්කන්තවණ්ණා කේවලකප්පං ජේතවනං ඕභාසෙත්වා යෙන භගවා තෙනු'පසංකමි උපසංකමිත්වා භගවන්තං අභිවාදෙත්වා එකමන්තං අට්ඨාසි. එකමන්තං ඨිතා ඛො සා දෙවතා භගවන්තං ගාථාය අජ්ඣභාසි.**

මා විසින් මෙසේ අසන ලදී. එක් සමයෙක භාග්‍යවතුන් වහන්සේ සැවැත් නුවර ජේතවනනම් වූ අනේපිඬු මහ සිටුහුගේ ආරාමයෙහි වැඩ වසන සේක. එකල්හි එක්තරා දෙවියෙක් රෑ ඉක්මවා ගිය කල්හි විශිෂ්ඨ ශෝභා ඇත්තේ සියලු දෙව්රම් වෙහෙර ස්වකීය ශරීර ශෝභාවෙන් බබුලුවා භාග්‍යවතුන් වහන්සේ යම් තැනකද එතනට එළඹියේය. එළඹ භාග්‍යවතුන් වහන්සේ වැඳ එකත් පසෙක සිටි ඒ දෙවිතෙම ගාථායෙන් (මෙසේ) කීය.

**බහූ දෙවා මනුස්සා ච**
**මංගලානි අචින්තයුං**
**ආකංඛමානා සොත්ථානං**
**බ්‍රෑහි මංගලමුත්තමං**

මෙලොව පරලොව සැප කැමති වන්නා වූ බොහෝ දෙවියෝ ද, මනුෂ්‍යයෝ ද දියුණුවට හිත කරුණු සිතූහ. වැඩ සලසන ඒ උතුම් මගුල් අපට අනුකම්පාවෙන් වදාළ මැනවි.

**අසෙවනා ච බාලානං**
**පණ්ඩිතානං ච සෙවනා**
**පූජා ච පූජනීයානං**
**එතං මංගලමුත්තමං**

බාලයන් නොහොත් අසත් පුරුෂයන් සේවනය නොකිරීම ද පණ්ඩිතයන් නොහොත් සත් පුරුෂයන් සේවනය කිරීම ද, පිදිය යුත්තන් පිදීම ද, (යන) මෙය උතුම් මංගල්‍යකි.

**පතිරූපදෙස වාසො ච**
**පුබ්බෙ ච කතපුඤ්ඤතා**
**අත්ත සම්මා පණිධි ච**
**එතං මංගලමුත්තමං**

සුදුසු දේශයක විසීම ද, පෙර කරන ලද පින් ඇති බව ද, සිත මනා දහම්හි පිහිටුවීම ද, (යන) මෙය උතුම් මංගල්‍යකි.

**බාහුසච්චඤ්ච සිප්පඤ්ච**
**විනයො ච සුසික්ඛිතො**
**සුභාසිතා ච යා වාචා**
**එතං මංගලමුත්තමං**

බොහෝ ඇසූ පිරූ තැන් ඇති බව ද, ශිල්ප දැනීම ද, මනාකොට හික්මුණු විනය ඇති බව ද, යම් වචනයක් මොනවට කියන ලද ද, සුබැසි වචනයන් ද, යන මෙය උතුම් මංගල්‍යකි.

**මාතා පිතූ උපට්ඨානං**
**පුත්ත දාරස්ස සංගහො**
**අනාකුලා ච කම්මන්තා**
**එතං මංගලමුත්තමං**

මවුට උපස්ථාන කිරීම ද, පියාට උපස්ථාන කිරීම ද, අඹුදරුවන්ට සංග්‍රහ කිරීම ද, නිරවුල් කර්මාන්ත ඇති බව ද, (යන) මෙය උතුම් මංගලයකි.

**දානං ච ධම්මචරියා ච**
**ඤාතකානඤ්ච සංගහො**
**අනවජ්ජානි කම්මානි**
**එතං මංගලමුත්තමං**

දන් දීම ද, දස කුසල්කම්හි හැසිරීම ද, නෑයන්ට සැලකීම ද, නිවැරදි ක්‍රියා ද, (යන) මෙය උතුම් මංගලයකි.

**ආරති විරති පාපා**
**මජ්ජ පානා’ච සඤ්ඤමො**
**අප්පමාදො ච ධම්මෙසු**
**එතං මංගලමුත්තමං**

පව්කම්වල නොඇලීම ද, අකුශල ක්‍රියා වලින් වැළකීම ද, මත්පැන් බීමෙන් වැළකීම ද, සියලු කුසල් දහම්හි පමා නොවීම ද,(යන) මෙය උතුම් මංගලයකි.

**ගාරවො ච නිවාතො ච**
**සන්තුට්ඨී ච කතඤ්ඤුතා**

**කාලෙන ධම්ම සවණං**
**එතං මංගලමුත්තමං**

ගරු කටයුත්තන්ට ගරු කිරීම ද, නිහතමානී බව ද, ලද දෙයින් සතුටු වන බව ද, කෙළෙහි ගුණ
දන්නා බව ද, සුදුසු කාලයෙහි බණ ඇසීම ද, (යන)
මෙය උතුම් මංගලයකි.

**ඛන්තී ච සොවචස්සතා**
**සමණානඤ්ච දස්සනං**
**කාලෙන ධම්මසාකච්ඡා**
**එතං මංගලමුත්තමං**

ඉවසීම ද, කීකරු බව ද, ශ්‍රමණයන් දැකීම ද, සුදුසු කල්හි ධර්ම සාකච්ඡාව ද, (යන) මෙය උතුම් මංගලයකි.

**තපො ච බ්‍රහ්මචරියඤ්ච**
**අරියසච්චානදස්සනං**
**නිබ්බාන සච්ඡිකිරියා ච**
**එතං මංගලමුත්තමං**

තපස ද, උතුම් හැසිරීම ද, ආර්‍ය්‍ය සත්‍යයන් නුවණින් දැකීම ද, නිවන් අවබෝධ කිරීම ද, (යන) මෙය උතුම් මංගලයකි.

**ඵුට්ඨස්ස ලොකධම්මෙහි**
**චිත්තං යස්ස න කම්පති**
**අසොකං විරජං ඛෙමං**
**එතං මංගලමුත්තමං**

අටලෝ දහමින් ස්පර්ශ කරන ලද යමෙකු ගේ සිත නොසැලේ ද, ශෝක රහිත ද, රාගාදී රජස් රහිත ද, නිර්භය ද, (යන) මෙය උතුම් මංගලයකි.

**එතා දිසානි කත්වාන**
**සබ්බත්ථ මපරාජිතා**
**සබ්බත්ථ සොත්ථිං ගච්ඡන්ති**
**තං තෙසං මංගලමුත්තමං'ති**

(අසත් පුරුෂයන් සේවනය නොකිරීම ආදී) මෙබඳු මංගලයන් කොට සෑම තන්හි උවදුරු නැත්තේ වෙයි. සෑමතන්හි සැපවත් බවට යෙත්. ඔවුනට ඒ කරුණු තිස් අටම උතුම් මංගල කරුණු වේ.

## රතන සූත්‍රය

**යානීධ භූතානි සමාගතානි**
**භුම්මානි වා යා නිවඅන්තලික්ඛෙ**
**සබ්බෙ'ව භූතා සුමනා භවන්තු**
**අථො'පි සක්කච්ච සුණන්තු භාසිතං**

මෙතැන්හි රැස්වූ පොළොවෙහි වූ හෝ යම් අමනුෂ්‍ය කෙනෙක් ඇද්ද, අහසෙහි වූද යම් අමනුෂ්‍ය කෙනෙක් ඇද්ද, ඒ සියලු අමනුෂ්‍යයෝ ම සතුටු සිතැත්තෝ වෙත්වා. තව ද මාගේ වචනය සතුටින් අසත්වා.

**තස්මා හි භූතානි සාමෙථ සබ්බෙ**

**මෙත්තං කරොථ මානුසියා පජාය**
**දිවා ච රත්තො ච හරන්තියෙ බලිං**
**තස්මාහි නෙ රක්ඛථ අප්පමත්තා**

භූතයිනි, එබැවින් සියලු තෙපි (මා ගේ වචනය) අසවු. මනුෂ්‍ය ප්‍රජාවට මෛත්‍රී කරවු. යම් කෙනෙක් දහවල් ද රෑ ද පුද පඬුරු පූජාවන් කෙරෙත් ද, එහෙයින් ඔවුන් නොපමාව රකිවු.

**යං කිංචි විත්තං ඉධ වා හුරංවා**
**සග්ගෙසු වා'යං රතනං පණීතං**
**න නො සමං අත්ථි තථාගතෙන**
**ඉදම්පි බුද්ධෙ රතනං පණීතං**
**එතෙන සච්චෙන සුවත්ථි හොතු**

මේ මිනිස් ලොව හෝ නා ලෝ ආදී අන් ලොවක හෝ යම් ධනයෙක් වේ ද, ස්වර්ගයෙහි හෝ යම්කිසි උතුම් රත්නයක් වේ ද, (ඔවුන් අතුරෙහි) තථාගතයන් වහන්සේ හා සම වූ කෙනෙක් නොමැත. බුදුරදුන් කෙරෙහි මේ රත්න බව ද උතුම්ය. මේ සත්‍යය බලයෙන් සෙත් වේවා.

**ඛයං විරාගං අමතං පණීතං**
**යදජ්ඣගා සක්‍ය මුනීසමාහිතො**
**න තෙන ධම්මෙන සමත්ථි කිඤ්චි**
**ඉදම්පි ධම්මෙ රතනං පණීතං**
**එතෙන සච්චෙන සුවත්ථි හොතු**

එකඟ වූ සිත් ඇති තථාගතයන් වහන්සේ(කෙලෙසුන් දුරු කරන හෙයින්) ක්ෂය නම් වූ (රාගයෙන් වෙන් වීමට

නිමිති වූ) විරාග නම් වූ වූද, (මරණයක් නැති හෙයින්)අමත නම් වූ යම් නිවණක් අවබෝධ කළේ ද? ඒ ධර්මය හා සම වූ කිසිවක් නොමැත. ධර්මයෙහි මේ රත්න භාවය ද උතුම් ය. මේ සත්‍යය බලයෙන් සෙත් වේවා.

**යං බුද්ධසෙට්ඨො පරිවණ්ණයී සුචිං**
**සමාධිමානන්තරිකඤ්ඤමාහු**
**සමාධිනා තෙන සමො න විජ්ජති**
**ඉදම්පි ධම්මෙ රතනං පණීතං**
**එතෙන සච්චෙන සුවත්ථි හොතු**

උතුම් වූ බුදුරජ තෙමේ පිරිසිදු වූ යම් ආර්ය මාර්ගයක් වර්ණනා කළේ ද, ඉතා පිරිසිදු වූ ඒ මාර්ගය ආනන්තරික සමාධියයි. යම් මාර්ගයක් (බුද්ධාදී ආර්යයෝ) දේශනා කරද්ද ඒ සමාධිය හා සම වූ සමාධියක් නැත. ධර්මයෙහි මේ රත්න භාවය ද උතුම් ය. මේ සත්‍ය බලයෙන් සෙත් වේවා.

**යෙ පුග්ගලා අට්ඨ සතං පසත්ථා**
**චත්තාරි එතානි යුගානි හොන්ති**
**තෙ දක්ඛිණෙය්‍යා සුගතස්සසාවකා**
**එතෙසු දින්නානි මහප්ඵලානි**
**ඉදම්පි සංඝෙ රතනං පණීතං**
**එතෙන සච්චෙන සුවත්ථි හොතු**

සත් පුරුෂයන් විසින් පසස්නා ලද යම් ආර්ය පුද්ගලයෝ අට දෙනෙක් වෙත් ද, නොහොත්
ප්‍රශස්ත වූ යම් එකසිය අටක් ආර්ය පුද්ගලයෝ වෙත් ද, මොහු හැමදෙන සතර යුග කෙනෙක් වෙති. සුගත්

බුදුරදුන් ගේ සවු වූ උන්වහන්සේලා සිව් පසය පිළිගැණීමට සුදුස්සෝ වෙති. මේ බුදු සවුවන් කෙරෙහි දෙන ලද දානයෝ මහත් ඵල ඇත්තෝ වෙත්. මේ කරුණින් ද බුද්ධ ශ්‍රාවක සංඝ තෙමේ උතුම් රුවනකි. මේ සත්‍ය බලයෙන් සෙත් වේවා.

**යෙ සුප්පයුත්තා මනසා දළ්හෙන**
**නික්ඛාමිනො ගොතමසාසනම්හි**
**තෙ පත්තිපත්තා අමතං විගය්හ**
**ලද්ධා මුධා නිබ්බුතිං භුඤ්ජමානා**
**ඉදම්පි සංඝෙ රතනං පණීතං**
**එතෙන සච්චෙන සුවත්ථි හොතු**

ගෞතම බුද්ධ ශාසනයෙහි වූ සුවිශුද්ධ කායවාක් කර්ම සංඛ්‍යාත, ශීලස්කන්ධයෙන් යුක්ත වූ ස්ථිර සිතින් යුක්ත වූ ප්‍රඥාව කරණා කොටගෙන සියලු කෙලෙසුන් ගෙන් නික්මුණා වූ යම් පුද්ගල කෙනෙක් වෙත් ද, ඔහු තුමු නිවනට බැස ගෙන නොමිලයේ ම රහත්ඵල සමවත ලැබ ගෙන එය විඳින්නහු වෙති. මේ කරුණින් ද, ආර්ය සංඝයා උතුම් රුවනකි. මේ සත්‍ය බලයෙන් සෙත් වේවා.

**යථින්දඛීලො පඨවිං සිතො සියා**
**චතුබ්භි වාතෙහි අසම්පකම්පියො**
**තථූපමං සප්පුරිසං වදාමි**
**යො අරියසච්චානි අවෙච්ච පස්සති**
**ඉදම්පි සංඝෙ රතනං පණීතං**
**එතෙන සච්චෙන සුවත්ථි හොතු**

යම් සේ පොළොව තුළ වැද ගෙන සිටි ඉන්ද්‍රඛීලය සිව්
දිගින් හමන සුළඟින් සෙලවිය හැකි නොවේ ද, චතුරාර්‍ය්‍ය
සත්‍ය නුවණින් දකින උතුම් පුරුෂයා
(සෝවාන් පුද්ගලයා) එබන්දකු කොට කියමි. මේ
කරුණින් ද, ආර්ය සංඝයා උතුම් රුවනකි. මේ සත්‍ය
බලයෙන් සෙත්වේවා.

**යෙ අරියසච්චානි විභාවයන්ති**
**ගම්භීරපඤ්ඤෙන සුදෙසිතානි**
**කිඤ්චාපි තෙ හොන්ති භුසප්පමත්තා**
**න තෙ භවං අට්ඨමං ආදියන්ති**
**ඉදම්පි සංඝෙ රතනං පණීතං**
**එතෙන සච්චෙන සුවත්ථි හොතු**

යම් සෝවාන් පුද්ගල කෙනෙක් ගැඹුරු නුවණැති බුදුන්
වහන්සේ දෙසූ ආර්ය සත්‍යයන් තමනට ප්‍රකට කෙරෙත්
ද, ඔහු බෙහෙවින් පමාවූවාහු නමුත් අටවැනි
උත්පත්තියක් නොගනී. මේ කරුණින් ද ආර්ය සංඝයා
උතුම් රුවනකි. මේ සත්‍ය බලයෙන් සෙත් වේවා.

**සහාව’ස්ස දස්සන සම්පදාය**
**තය’ස්සු ධම්මා ජහිතා භවන්ති**
**සක්කායදිට්ඨි විචිකිච්ඡිතඤ්ච**
**සීලබ්බතං වා’පි යදත්ථි කිඤ්චි**
**චතූහපායෙහි ච විප්පමුත්තො**
**ඡ චාභිඨානානි අභබ්බො කාතුං**
**ඉදම්පි සංඝෙ රතනං පණීතං**
**එතෙන සච්චෙන සුවත්ථි හොතු**

මේ සෝවාන් පුද්ගලයා ගේ සෝවාන් මග නුවණ පහළවීම සමගම සත්කාය දෘෂ්ඨියද (කය පිළිබඳ විසි අයුරකින් පැවති) (බුද්ධාදී අටතැන්හි) සැකයද යම් මිත්‍ථ්‍යා ශීල ව්‍රත කෙනෙක වූහු නම් ඒ සියල්ල ද යන මේ තුන් සංයෝජනයෝ දුරු කරණ ලද්දෝ වෙති. හෙතෙම සතර අපායන් (නිරය, තිරිසන් ලෝකය, ප්‍රේත ලෝකය, අසුර) කෙරෙන් මිදුනේ වේ. ආනන්තර්‍ය කර්ම පසත් මිත්ථ්‍යා දෘෂ්ටියත් යන බැරෑරුම් පව් සය කරන්නට ද හේ අභව්‍ය ය. මේ කරුණින් ද ආර්ය සංඝයා උතුම් රුවනකි. මේ සත්‍ය බලයෙන් සෙත් වේවා.

**කිඤ්චාපි සො කම්මං කරොති පාපකං**
**කායෙන වාචා උද චෙතසා වා**
**අභබ්බො සො තස්ස පටිච්ඡාදාය**
**අභබ්බතා දිට්ඨ පදස්ස වුත්තා**
**ඉදම්පි සංඝෙ රතනං පණීතං**
**එතෙන සච්චෙන සුවත්ථි හොතු**

ඒ සෝවාන් පුද්ගල තෙම කයින් හෝ වචනයෙන් හෝ සිතින් හෝ ප්‍රඥප්ති මාත්‍ර වූ කිසි වරදක් කරන්නේ නමුදු හේ එය සැඟවන්නට නො හැක්කේ ය. දක්නා ලද නිර්වාණ පදය ඇති සෝවාන් පුද්ගලයා ගේ (වරද සැඟවීමේ) අවශ්‍ය බව බුදුරදුන් විසින් වදාරණ ලද්දේය. මේ කරුණින් ද ආර්ය සංඝයා උතුම් රුවනකි. මේ සත්‍ය බලයෙන් සෙත් වේවා.

**වනප්පගුම්බෙ යථා ඵුස්සිතග්ගෙ**
**ගිම්හානමාසෙ පඨමස්මිංගිම්හෙ**
**තථූපමං ධම්ම වරං අදෙසයී**

**නිබ්බානගාමිං පරමං හිතාය**
**ඉදම්පි බුද්ධෙ රතනං පණීතං**
**එතෙන සච්චෙන සුවත්ථි හොතු**

වන ලැහැබ තෙමේ ග්‍රීෂ්ම ඍතුවේ පළමු වන මාසයෙහි හෙවත් බක් මස සුපිපි අක් ඇත්තේ යම්සේ ද එසේ වූ නිවන් පුර පමුණුවන උතුම් ලොවිතුරා ධර්ම රත්නය ලෝසතුන් ගේ හිත පිණිස බුදුරදුන් දේශනා කළ සේක. මේ කරුණින් ද බුදුරජ තෙමේ උතුම් රුවනකි. මේ සත්‍ය බලයෙන් සෙත් වේවා.

**වරො වරඤ්ඤූ වරදො වරාහරො**
**අනුත්තරො ධම්ම වරං අදෙසයි**
**ඉදම්පි බුද්ධෙ රතනං පණීතං**
**එතෙන සච්චෙන සුවත්ථි හොතු**

උතුම් වූ නිවන දන්නා වූ, උතුම් වූ නිවන දෙන්නා වූ, උතුම් නිවන් මග ගෙනහැර පාන්නාවූ, අනුත්තර වූ බුදුරජාණන් වහන්සේ උතුම් වූ දහමක් දෙසූ සේක. මේ කරුණින් ද බුදුරජ තෙමේ උතුම් රුවනකි. මේ සත්‍ය බලයෙන් සෙත් වේවා.

**ඛීණං පුරාණං නවං නත්ථි සම්භවං**
**විරත්තචිත්තා ආයතිකෙ භවස්මිං**
**තෙ ඛීණබීජා අවිරුළ්හිච්ඡන්දා**
**නිබ්බන්ති ධීරා යථායංපදීපො**
**ඉදම්පි සංඝෙ රතනං පණීතං**
**එතෙන සච්චෙන සුවත්ථි හොතු**

යම් කෙනෙකු ගේ පුරාතන කර්ම රහත් මගින් ක්ෂීණ වූයේ ද, අලුත් කර්මයන් ගේ පහළ වීමකුත් නැද්ද, මතු භවයක් කෙරෙහි නො ඇලුණු සිතැති ක්ෂීණ වූ ප්‍රතිසන්ධි විඥාන සංඛ්‍යාත සංස්කාර වෘද්ධිය කෙරෙහි කැමැත්තක් නැති ධෛර්යය සම්පන්න වූ ඒ රහත්හු මේ පහන සේ අවසන් සිත නිරුද්ධ වීමෙන් පිරිනිවෙත්. මේ කරුණින් ද ආර්ය සංඝයා උතුම් රුවනකි. මේ සත්‍ය බලයෙන් සෙත් වේවා.

**යානීධ භූතානි සමාගතානි**
**භුම්මානි වා යානි’ව අන්තලික්ඛෙ**
**තථාගතං දේවමනුස්ස පූජිතං**
**බුද්ධං නමස්සාම සුවත්ථි හොතු**

පොළොවෙහි හෝ අහසෙහි වූ යම් අමනුෂ්‍ය කෙනෙක් මෙතැන් හි රැස්වූහු ද ඔහු ද මම ද දෙව් මිනිසුන් විසින් පුදන ලද තථාගත බුදුරජාණන් වහන්සේ නමදිමු. සත්ව ප්‍රජාවට සෙත්වේවා.

**යානීධ භූතානි සමාගතානි**
**භුම්මානි වා යානි’ව අන්තලික්ඛෙ**
**තථාගතං දේවමනුස්ස පූජිතං**
**ධම්මං නමස්සාම සුවත්ථි හොතු**

පොළොවෙහි හෝ අහසෙහි වූ යම් අමනුෂ්‍ය කෙනෙක් මෙතැන් හි රැස්වූහු ද ඔහු ද මම ද දෙව් මිනිසුන් විසින් පුදන ලද බුද්ධාදීන් විසින් අවබෝධ කරන ලද බැවින් තථාගත වූ ධර්මය නමදිමු. සත්ව ප්‍රජාවට සෙත්වේවා.

**යානීධ භූතානි සමාගතානි**
**භුම්මානි වා යානි'ව අන්තලික්ඛෙ**
**තථාගතං දේවමනුස්ස පූජිතං**
**සංඝං නමස්සාම සුවත්ථි හොතු**

පොළොවෙහි හෝ අහසෙහි වූ යම් අමනුෂ්‍ය කෙනෙක් මෙතැන් හි රැස්වූහු ද ඔහු ද මම ද දෙව් මිනිසුන් විසින් පුදන ලද තථාගත වූ සංඝයා නමදිමු. සත්ව ප්‍රජාවට සෙත්වේවා.

## කරණීය මෙත්ත සූත්‍රය

**කරණීය මත්ථකුසලෙන**
**යං තං සන්තංපදං අභිසමෙච්ච**
**සක්කො උජූ ච සූජූ ච**
**සුවචො ච'ස්ස මුදු අනතිමානී**

යම් ඒ ශාන්තිපද සංඛ්‍යාත නිර්වාණයක් වේ ද, එයට පැමිණි නොහොත් එය අවබෝධ කොට වසනු කැමැති අභිවෘද්ධිය සලසා ගැනීමෙහි දක්ෂයා විසින් එයට සුදුසු දෙය කළ යුතුය. නිවණට පැමිණ වසනු කැමැත්තේ සත්‍ය ප්‍රතිවෙධය පිණිස පිළිපදින්නට නොහොත් කිසුණු පිරියම් කිරීම් වත් සමාදන්වීම් ආදී සියලු කාර්යයන් කරන්නට දක්ෂයෙක් වන්නේය. ඍජු වන්නේය. මනා කොට ඍජු වන්නේය. අන්‍යයන් ගේ අවවාද මනා කොට පිළි ගැනීම් වශයෙන් සුවච වන්නේය. මෘදු වන්නේ ය. අතිමාන ඇත්තේ නොවන්නේය.

**සන්තුස්සකො ච සුභරො ච**

**අප්පකිච්චො ච සල්ලහුකවුත්ති**
**සන්තින්ද්‍රියො ච නිපකො ච**
**අප්පගබ්භො කුලෙසු අනනුගිද්ධො**

ලද දෙයින් සතුටු වන්නෙක් ද, පෝෂණය කළ හැකිකෙනක් වීම ද, සැහැල්ලු පැවැතුම් ඇත්තෙක් ද, සන්සුන් ඉඳුරන් ඇත්තෙක් ද, ප්‍රඥා ඇත්තෙක් ද, හැඩි දැඩි අසංවර ගති නැත්තෙක් ද, කුලයන් කෙරෙහි නොඇලුනෙක් ද, වන්නේ ය.

**න ච ඛුද්දං සමාචරෙ කිඤ්චි**
**යෙන විඤ්ඤූ පරෙ උපවදෙය්‍යුං**
**සුඛිනො වා ඛෙමිනො හොන්තු**
**සබ්බෙ සත්තා භවන්තු සුඛිතත්තා**

නුවණැති අන්‍යයන් නින්දා කරණ සුලු වරදක්වත් නො කරන්නේ ය. සියලු සත්වයෝ සැප ඇත්තෝ වෙත්වා. භය නැත්තෝ වෙත්වා. සුඛිත සිත් ඇත්තෝ වෙත්වා යි ද,

**යෙ කෙචි පාණ භූත’ත්ථි**
**තසා වා ථාවරා වා අනවසෙසා**
**දීඝා වා යෙ මහන්තා වා**
**මජ්ඣිමා රස්සකා’ණුක ථූලා**

තෘෂ්ණා භය සහිත හෙයින් තැති ගන්නා සුලුවූ ද, තෘෂ්ණා භය ප්‍රහීන කළ හෙයින් ස්ථාවරවූ ද, යම් කිසි සත්වයෝ ඇත්තාහු නම්, ඒ සියලු දෙනා ද, දික් ශරීර ඇත්තෝ ද, මහත් ශරීර ඇත්තෝ ද, මධ්‍යම ශරීර

ඇත්තෝ ද, මිටි ශරීර ඇත්තෝ ද, ඉතා සියුම් ශරීර
ඇත්තෝ ද, ස්ථූල ශරීර ඇත්තෝ ද,

**දිට්ඨා වා යෙ'ව අද්දිට්ඨා**
**යෙ ච දූරෙ වසන්ති අවිදූරෙ**
**භූතා වා සම්භවෙසී වා**
**සබ්බෙ සත්තා භවන්තු සුඛිතත්තා**

ඇස් හමුවට පැමිණීම් වසයෙන් දුටු සත්තු ද, ඈත සිටි
හෙයින් නුදුටු සත්තු ද, දුරත්, ළඟත් වසන සත්තු ද,
ඉපදීම අවසන් කළ සත්වයෝ ද, ඉපදිමින් සිටින
සත්වයෝ ද, යන මේ සියලු සත්වයෝ සුඛිත වෙත්වා'යි
ද, මෙත් වඩන්නේය.

**න පරො පරං නිකුබ්බෙථ**
**නාතිමඤ්ඤෙථ කත්ථචි නං කඤ්චි**
**බ්‍යාරොසනා පටිඝසඤ්ඤා**
**නාඤ්ඤමඤ්ඤස්ස දුක්ඛමිච්ඡෙය්‍ය**

එකෙක් අනෙකෙකු නො රවටන්නේ ය. අනිකෙකුට
අවමන් නො කරන්නේය. කය හා වචනය පිළිබඳ
විකෘතියෙන් ද, මනෝවිකාරයෙන් ද එකෙක් අනෙකකුට
දුකක් නො කැමති වන්නේ ය.

**මාතා යථා නියං පුත්තං**
**ආයුසා එකපුත්තමනුරක්ඛෙ**
**එවං'පි සබ්බභූතෙසු**
**මානසං භාවයෙ අපරිමාණං**

මව යම් සේ තමාගේ එකම පුතා ජීවිත පරිත්‍යාග යෙන් වුවත් රක්නේ ද, එපරිද්දෙන් ම සියලු සත්වයන් කෙරෙහි අප්‍රමාණ වූ මෛත්‍රී සහගත සිත වඩන්නේය.

**මෙත්තං ච සබ්බලොකස්මිං**
**මානසං භාවයෙ අපරිමාණං**
**උද්ධං අධො ච තිරියඤ්ච**
**අසම්බාධං අවෙරං අසපත්තං**

උඩ ද යට ද සරස ද සීමාවකුදු නැතිව අතරතුරවත් වෛර චේතනා පහළවීමක් නැතිව සතුරන් රහිතව සියලු ලෝක සත්වයා කෙරෙහි අප්‍රමාණ වූ මෛත්‍රී සහගත සිත වඩන්නේ ය.

**තිට්ඨං චරං නිසින්නො වා**
**සයානො වා යාවත'ස්ස විගතමිද්ධො**
**එතං සතිං අධිට්ඨෙය්‍ය**
**බ්‍රහ්ම'මෙතං විහාරං ඉධමාහු**

සිටින්නේ හෝ ඇවිදින්නේ හෝ උන්නේ හෝ නිදන්නේ හෝ යම්තාක් මෛත්‍රී සහගත සිහිය වඩනු කැමැත්තේ ද, ඒ තාක් පහවූ මිද්ධය අලස බව ඇතිව අධිෂ්ඨාන කරන්නේ ය. මෛත්‍රී විහරණය මේ බුද්ධ ශාසනයෙහි ශ්‍රේෂ්ඨ විහරණයෙකැයි ප්‍රකාශ කළහ.

**දිට්ඨිඤ්ච අනුපගම්ම සීලවා**
**දස්සනෙන සම්පන්නො**
**කාමෙසු විනෙය්‍ය ගෙධං**
**න හි ජාතු ගබ්භසෙය්‍යං පුනරෙතී'ති**

මිත්‍ථ්‍යා දෘෂ්ඨියට නො පැමිණ සිල්වත් වූයේ වස්තු කාමයන් හි ගිජු බව දුරුකොට ඒකාන්තයෙන් ම නැවත ගර්භයෙක් හි විසීමට නො පැමිණෙන්නේ ය. (ශුද්ධාවාසයක) ඉපිද එහිදීම රහත් බවට පැමිණ පිරිනිවන් පාන්නේ ය.

## පින් දීම

**ආකාසට්ඨා ච භුම්මට්ඨා**
**දෙවා නාගා මහිද්ධිකා**
**පුඤ්ඤං තං අනුමෝදිත්වා**
**චිරං රක්ඛන්තු ලොකසාසනං**

අහසෙහි පොළොවෙහි වෘක්ෂ පර්වතාදියෙහි අධිගෘහිත වූ මහත් සෘද්ධි ඇති දෙවියෝ ද, බ්‍රහ්මයෝ ද, පින් අනුමෝදන්ව සාසනය බොහෝ කල් රකිත්වා.

**ආකාසට්ඨා ච භුම්මට්ඨා**
**දෙවා නාගා මහිද්ධිකා**
**පුඤ්ඤං තං අනුමෝදිත්වා**
**චිරං රක්ඛන්තු දේසනං**

අහසෙහි පොළොවෙහි වෘක්ෂ පර්වතාදියෙහි අධිගෘහිත වූ මහත් සෘද්ධි ඇති දෙවියෝ ද, බ්‍රහ්මයෝ ද, පින් අනුමෝදන්ව ධර්මය බොහෝ කල් රකිත්වා.

**ආකාසට්ඨා ච භුම්මට්ඨා**
**දෙවා නාගා මහිද්ධිකා**
**පුඤ්ඤං තං අනුමෝදිත්වා**
**චිරං රක්ඛන්තු මං පරං**

අහසෙහි පොළොවෙහි වෘක්ෂ පර්වතාදියෙහි අධිගෘහිත වූ මහත් සෘද්ධි ඇති දෙවියෝ ද, බ්‍රහ්මයෝ ද, පින් අනුමෝදන්ව මා ද අන්‍යයන් ද යහතින් බොහෝ කල් රකිත්වා



## දෙවන කොටස 32 - 61

## භාවනා

**නෙ'තං මම: නෙ'සො'හම'ස්මි: න මෙ'සො අත්තා** (තුන් වරක් කියන්න)

## මෛත්‍රී භාවනාව

**අහං අවෙරො හොමි! අබ්‍යාපජ්ඣො හොමි! අනීඝො හොමි! සුඛී අත්තානං පරිහරාමි!**

**අහං විය මය්හං ආචරියුපජ්ඣායා මාතාපිතරො හිතසත්තා මජ්ඣත්තිකසත්තා**

**වෙරීසත්තා අවෙරා හොන්තු! අබ්‍යාපජ්ඣා හොන්තු! අනීඝා හොන්තු! සුඛී අත්තානං පරිහරන්තු!**

**දුක්ඛා මුඤ්චන්තු! යථා ලද්ධ සම්පත්තිතො මා විගච්ඡන්තු කම්මස්කා!**

**සබ්බෙ සත්තා අවෙරා හොන්තු අබ්‍යාපජ්ඣා හොන්තු අනීඝා හොන්තු සුඛී අත්තානං පරිහරන්තු**

**සබ්බෙ පාණා අවෙරා හොන්තු අබ්‍යාපජ්ඣා හොන්තු අනීඝා හොන්තු සුඛී අත්තානං පරිහරන්තු**

**සබ්බෙ භූතා අවෙරා හොන්තු අබ්‍යාපජ්ඣා හොන්තු අනීඝා හොන්තු සුඛී අත්තානං  පරිහරන්තු**

**සබ්බෙ පුග්ගලා අවෙරා හොන්තු අබ්‍යාපජ්ඣා හොන්තු අනීඝා හොන්තු සුඛී අත්තානං පරිහරන්තු**

**සබ්බෙ අත්තභාව පරියාපන්නා අවෙරා හොන්තු අබ්‍යාපජ්ඣා හොන්තු අනීඝා හොන්තු සුඛී අත්තානං පරිහරන්තු**

**අහං සුඛී භවෙය්‍යං! අහං අවෙරො භවෙය්‍යං! අහං අබ්‍යාපජ්ඣො භවෙය්‍යං! අහං නිද්දුක්ඛො භවෙය්‍යං!**

මම නිදුක් වෙම්වා! නිරෝගී වෙම්වා! සුවපත් වෙම්වා! දුකින් මිදෙම්වා!

මා මෙන්ම මාගේ ආදරණීය දෙමාපියන් ද නිදුක් වෙත්වා! නිරෝගී වෙත්වා! සුවපත් වෙත්වා! දුකින් මිදෙත්වා!

මාගේ දයාබර සහෝදර සහෝදරියන් ද නිදුක් වෙත්වා! නිරෝගී වෙත්වා! සුවපත් වෙත්වා! දුකින් මිදෙත්වා!

මාගේ කරුණාවන්ත ගුරුවරු දනිදුක් වෙත්වා! නිරෝගී වෙත්වා! සුවපත් වෙත්වා! දුකින් මිදෙත්වා!

මාගේ හිතාදර ඥාති මිත්‍රාදීන් ද නිදුක් වෙත්වා! නිරෝගී වෙත්වා! සුවපත් වෙත්වා! දුකින් මිදෙත්වා!

මාගේ යටහත් සේවකයන් ද නිදුක් වෙත්වා! නිරෝගී වෙත්වා! සුවපත් වෙත්වා! දුකින් මිදෙත්වා!

මා හා අහිතවත් සෑමදෙනා ද නිදුක් වෙත්වා! නිරෝගී වෙත්වා! සුවපත් වෙත්වා! දුකින් මිදෙත්වා!

## බුද්ධානුස්සති භාවනාව

**බුද්ධානුස්සති මෙත්තා ච**
**අසුභං මරණස්සති**
**ඉති ඉමා චතුරාරක්ඛා**
**භික්ඛු භාවෙය්‍ය සීලවා**

සිල්වත් මහණ තෙමේ, බුද්ධානුස්මෘති භාවනාවද, මෛත්‍රී භාවනාවද, අසුභ භාවනාවද, මරණානුස්මෘති භාවනාව ද, යන මේ ආරක්‍ෂා සතර වැඩිය යුතුයි.

**අනන්ත විත්ථාර ගුණං**
**ගුණතො'නුස්සරං මුනිං**
**භාවෙය්‍ය බුද්ධිමා භික්ඛූ**
**බුද්ධානුස්සතිමාදිතො**

නුවණැති මහණ තෙමේ අනන්ත වූ පැතුරුණ ගුණ ඇති බුදුරජාණන් වහන්සේ ගුණ අනුව සිහිකර බලමින් මුල සිටම බුද්ධානුස්මෘති භාවනාව වැඩිය යුතුයි.

**සවාසනෙ කිලෙසෙසො**
**එකො සබ්බෙ නිඝාතිය**
**අහූ සුසුද්ධ සන්තානො**
**පූජානඤ්ච සදා'රහො**

ඒ බුදුරජාණන් වහන්සේ තනිවම වාසනා හෙවත් පෙර සිට ආ කෙලෙස් පුරුදුකම් සහිත වූ සියලු කෙලෙස් ප්‍රහීන කොට (වනසා දමා) අතිශයින් පිරිසිදු සිත්

ඇත්තෙක් වූ සේක. හැම කල්හිම පුද පූජාවන් ලැබීමට ද සුදුස්සෙක් වූ සේක.

**සබ්බකාල ගතෙ ධම්මෙ**
**සබ්බෙ සම්මා සයං මුනී**
**සබ්බාකාරෙන බුජ්ඣිත්වා**
**එකො සබ්බඤ්ඤුතං ගතො**

බුදුරජාණන් වහන්සේ තුන් කාලයටම අයත් වූ සියලු ධර්ම කරුණු මනාව නිතරම හැම අයුරින්ම අවබෝධ කොට එකලාව (දෙවැන්නෙකුගේ සහයක් නැතිව) බුදු බවට පැමිණි සේක.

**විපස්සනාදි විජ්ජාහි**
**සීලාදි චරණෙහි ච**
**සුසමිද්ධෙහි සම්පන්නො**
**ගගනාභේහි නායකො**

තුන් ලොවටම නායක වූ ඒ බුදුරජාණන් වහන්සේ මනාව සමෘද්ධිමත් බවට පැමිණ ගුවන් තලය වැනි වූ අහස මෙන් සීමා රහිත විශාලත්වයට පැමිණියා වූ විදර්ශනා ඥානය ආදී අට වැදැරුම් විද්‍යාවන් ගෙන් ද සීලය ආදී පසලොස් චරණ ධර්ම වලින් ද යුක්ත වන සේක.

**සම්මා ගතො සුභං ඨානං**
**අමොඝ වචනො ච සො**
**තිවිධස්සා’පි ලොකස්ස**
**ඤාතා නිරවසේසතො**

ඒ බුදුරජාණන් වහන්සේ යහපත් වූ තැනට (නිවනට) මනාව ගිය සේක. (නිවන අවබෝධ කළ සේක.) හිස් වචන නොකියන්නෙක් ද වන සේක. කාම රූප අරූප තෙවදෑරුම් වූ ලෝකයන් ද සම්පූර්ණයෙන් දත් සේක. (නිර්වශේෂයෙන්)

**අනෙකෙහි ගුණොඝෙහි**
**සබ්බ සත්තු'ත්තමො අහු**
**අනෙකෙහි උපායෙහි**
**නරදම්මෙ දමෙසි ච**

නන් වැදෑරුම් වූ ගුණ රාශියක් කරන කොට ගෙන ඒ බුදුරජාණන් වහන්සේ සියළු සත්වයන්ට උතුම් වූ සේක. නොහොත් විවිධ ක්‍රම වලින් හික්මවිය යුතු මිනිසුන් හික්මවීම ද කල සේක.

**එකො සබ්බස්ස ලොකස්ස**
**සබ්බ සත්තා'නුසාසකො**
**භාග්‍ය ඉස්සරියාදීනං**
**ගුණානං පරමො නිධි**

සියලු ලෝකයන්ට ද සියලු සත්වයන්ට ද අසහාය වූ අනුශාසකයන් වහන්සේ කෙනෙක් වූ සේක. භාග්‍ය ඓශ්වර්යාදී වූ සම්පත්තීන්ට පරම වූ උතුම් වූ නිධානයක් හා සමාන වූ සේක.

**පඤ්ඤා'ස්ස සබ්බ ධම්මෙසු**
**කරුණා සබ්බ ජන්තුසු**
**අත්තත්ථානං පරත්ථානං**

**සාධිකා ගුණ ජෙට්ඨිකා**

ඒ තථාගතයන් වහන්සේ ගේ සියලුම ධර්මයන් හි පතලා වූ ප්‍රඥාව ද, සියලු සතුන් කෙරෙහි පතලා වූ කරුණාව ද, යන මේ ගුණයන්ට ආත්මාර්ථ පරාර්ථ දෙක සාදා දෙන්නා වූ ප්‍රධාන ගුණයෝ වූහ.

**දයාය පාරමී චිත්වා**
**පඤ්ඤාය'ත්තාන මුද්ධරි**
**උද්ධරී සබ්බ ධම්මෙ ච**
**දයාය'ඤ්ඤෙ ච උද්ධරී**

ඒ බුදුරජාණන් වහන්සේ සත වෙත පතල මහා කුලුණෙන් සමතිස් පාරමි දහම් රැස්කොට හෙවත් පුරා ප්‍රඥා මහිමයෙන් තමන් වහන්සේ  ද සසරින් ඔසවා තැබූ සේක, හෙවත් ගොඩ ගත් සේක සියලු දහම් මතුකර පෙන්වා වදාළ සේක. මහා කරුණාවෙන් සෙසු ලෝක සත්වයා ද සසරින් එගොඩ කල සේක.

**දිස්සමානො'පි තාව'ස්ස**
**රූපකායො අචින්තියො**
**අසාධාරණ ඤාණඩ්ඪෙ**
**ධම්මකායෙ කථාවකා'ති**

උන්වහන්සේගේ වනාහි ඇසට පෙනෙන්නා වූ රූපකාය සම්පත්තිය පවා නොසිතිය හැක්කේය. සෙසු ශ්‍රාවකයන් හා අසාධාරණ වූ ඥාණයෙන් ආඪ්‍ය වූ (පිරී ගියා වූ) ධර්ම කාය සම්පත්තිය පිළිබඳව කියනුම කවරේද?

# මෙත්තානුස්සති භාවනාව

**අත්තූ'පමාය සබ්බෙසං**
**සත්තානං සුඛ කාමතං**
**පස්සිත්වා කමතො මෙත්තං**
**සබ්බ සත්තෙසු භාවයෙ**

මම සැප කැමැත්තෙක් වන්නෙමි. තමාම උපමා
කර ගැනීමෙන් සියළුම සෙසු සත්වයන් ද සැපයට
කැමති බව දැන හෙවත් අවබෝධ කොට ගෙන සිවු
සතන් කෙරෙහි මෛත්‍රිය පිළිවෙලින් වැඩිය යුතුය.

**සුඛී භවෙය්‍යං නිද්දුක්ඛො**
**අහං නිච්චං අහං විය**
**හිතා ච මෙ සුඛී හොන්තු**
**මජ්ඣත්තා'ථ ච වෙරිනො**

මම නිරතුරුවම සුවපත් වෙම්වා. නිදුක් වෙම්වා. මා
මෙන් මාගේ හිතවත්හු ද, මැදහත් අදහස් ඇත්තෝ ද,
යලි වෛරී සත්වයෝ ද, සුවපත් වෙත්වා.

**ඉමම්හි ගාමක්ඛෙත්තම්හි**
**සත්තා හොන්තු සුඛී සදා**
**තතො පරං ච රජ්ජේසු**
**චක්කවාළෙසු ජන්තුනො**

මේ ගම් පියසෙහි සත්වයෝ හැම කල්හි සුවපත්
වෙත්වා. ඉන් අනතුරුව එපිට රාජ්‍ය වල ද සක්වල ද
සත්වයෝ සුවපත් වෙත්වා.

**සමන්තා චක්කවාළෙසු**
**සත්තා'නං තෙසු පාණිනො**
**සුඛිනො පුග්ගලා භූතා**
**අත්තභාවගතා සියුං**

හාත්පස අප්‍රමාණ වූ චක්‍රාවාටයන් හිදී ඉපදීමට පැමිණියා වූ හෙවත් උපත ලැබූ සත්වයෝ ද ප්‍රාණීහු ද වෙත් නම් ඒ සියල්ලෝම ද සුවපත් වූ පුද්ගලයෝ වූවාහු වෙත්වා.

**තථා ඉත්ථී පුමා චේ'ව**
**අරියා අනරියා'පි ච**
**දෙවා නරා අපායට්ඨා**
**තථා දසදිසාසු චා'ති**

එසේම ස්ත්‍රීහු ද, පුරුෂයෝ ද, ආයර්‍යයෝ ද (උසස් පුද්ගලයෝ), අනාර්යයෝ (පහත් පුද්ගලයෝ), දෙවිවරු ද, මිනිසුන් ද, ආවස ගතව සිටින්නා වූ සත්වයෝ ද, එසේම දස දිසාහිම සිටින්නා වූ සියලු සත්වයෝ ද, සුවපත් වෙත්වා.

## අසුභානුස්සති භාවනාව

**අවිඤ්ඤාණ සුභ නිභං**
**සවිඤ්ඤාණ සුභං ඉමං**
**කායං අසුභතො පස්සං**
**අසුභං භාවයෙ යති**

හිත රහිත වූ විට හෙවත් මියගිය පසුව අසුභයක් සේ පෙනෙන්නා වූ ද, එහෙත් හිත සහිත වූ විට හෙවත් පීවිතය තිබෙන විට පවා අසුභ වස්තුවක් සේ සලකනු ලබන මේ සිරුර අසුභ වශයෙන් බලමින් හෙවත් විමසමින් භික්ෂුව අසුභානුස්සති භාවනාව වැඩිය යුතුය.

**වණ්ණසන්ඨාන ගන්ධෙහි**
**ආසයො කාසතො තථා**
**පටික්කූලානි කායෙ මෙ**
**කුණපානි ද්විසොළස**

මාගේ සිරුරෙහි වර්ණ වශයෙන් ද, හැඩහුරු කමින් ද, දුර්ගන්ධ වශයෙන් ද, ආශ්‍රය කරුණ වශයෙන් ද, එසේම පිහිටා ඇති ස්ථාන වශයෙන් ද, පිළිකුල් කටයුතු වූ කුණුප කොට්ඨාශ දෙතිසක් වේ.

**පතිතම්හා'පි කුණපා**
**ජේගුච්ඡං කාය නිස්සිතං**
**ආධාරො හි සුචී තස්ස**
**කායොතු කුණපෙ ඨිතං**

කය ඇසුරු කළාවූ හෙවත් ශරීරය හා බැඳී පවත්නා වූ කුණුප කොට්ඨාශය කයින් ගිලිහී වැටුණ කුණුප කොට්ඨාශයටත් වඩා පිළිකුල් සහගත වේ. ඒ ගිලිහී වැටුණු කුණුප යෙහි යම් පිරිසිදු බවක් ඇති නමුත් ඒ ඒ කුණුප පිහිටා සිටීමට ආධාර වූ සිරුර වනාහි කුණුප ගොඩකම පිහිටන්නේය.

**මිළ්හෙ කිමි'ව කායො'යං**

**අසුචිම්හි සමුට්ඨිතො**
**අන්තො අසුචි සම්පුණ්ණො**
**පුණ්ණවච්චකුටී විය**

මේ සිරුර අසූචි ගොඩක පනුවෙකු මෙන් අපවිත්‍ර වස්තු ගොඩක් මැද හට ගෙන තිබේ. සිරුර ඇතුළත ද අපවිත්‍ර අසූචියෙන් පිරි වැසිකිලියක් මෙනි. එම සිරුර සියලු කුණුප කොටස් වලට ආධාරයක් ව පවතී. සිරුර මුලුමනින්ම කුණුප කොටස් රාශියකින් බැඳී පවතී.

**අසුචි සන්දතෙ නිච්චං**
**යථා මෙධකථාලිකා**
**නානා කිමි කුලා'වාසො**
**පක්කචන්දනිකා විය**

තෙල් පිරී ඉතිරී යන තැටියක් මෙන් මේ සිරුරින් නිතරම අපවිත්‍ර දේවල් වැගිරෙයි. හිරු එළිය නිසා කැකෑරෙන ජරාවෙන් පිරි වලක් මෙන් විවිධ පනුවන්ට මේ සිරුර වාසස්ථානයක් වෙයි,

**ගණ්ඩභූතො රොගභූතො**
**වණභූතො සමුස්සයො**
**අතෙකිච්ඡොති ජෙගුච්ඡො**
**පභිණ්ණ කුණපූ'පමො ති**

මේ සිරුර සැරව ගෙඩියක් වැනිය. රෝගයක් වැනිය. තුවාලයක් වැනිය. පිළියම් කළ නොහැකිය. ඉතාමත් පිළිකුල් බැවින් යුතු නිසා කුණු වී දිය වී ගිය මළ සිරුරක් වැනිය.

## මරණානුස්සති භාවනාව

**පවාත දීප තුල්‍යාය**
**සායුසන්තතියාක්ඛයං**
**පරූපමාය සම්පස්සං**
**භාවයෙ මරණස්සතිං**

ඒ මහණ තෙමේ සුළඟ වැදීමෙන් නිතර සෙලෙවෙන පහන් දැල්ලක් වැනි වූ මොහොතින් මොහොත නැසීම සිදුවන ආයුෂ ගෙවීමෙන් මියගියා වූ වෙන කෙනෙකුගේ ශරීරය උපමා කරගෙන ඒ අනුව විමසා බලා මරණානුස්මෘතිය වැඩිය යුත්තේය.

**මහා සම්පත්ති සම්පත්තා**
**යථා සත්තා මතා ඉධ**
**තථා අහං මරිස්සාමි**
**මරණං මම හෙස්සති**

මේ ලෝකයේ මහා සැප සම්පත් වලට පැමිණි සත්වයෝ යම් සේ මියගියාහු ද එසේම මම ද මිය යන්නෙමි. මට ද මරණය පැමිණෙන්නේය.

**උප්පත්තියා සහෙ'වෙ'දං**
**මරණං ආගතං සදා**
**මරණත්තාය ඔකාසං**
**වධකො විය එසති**

මේ මරණය සැමදා උපත සමගම පැමිණෙයි. මේ මරණය වධකයෙක් අපරාධකරුවා මැරීමට අවස්ථාව

සොයන්නාක් මෙන් සත්වයා මරා දැමීමට අවස්ථාවක් සොයමින් සිටී.

**ඊසකං අනිවත්තං තං**
**සතතං ගමනුස්සුකං**
**ජීවිතං උදයා අත්ථං**
**සුරියො විය ධාවති**

මොහොතක්වත් නතර නොවී ගමනෙහි යෙදෙන ජීවිතය ඉපදීමේ සිට මරණය දක්වා ගමන් කරයි. උදාවීමේ පටන් බැසයාම දක්වා දුවන සූර්‍ය්‍යා මෙනි.

**විජ්ජුබුබ්බුල උස්සාව**
**ජලරාජි පරික්ඛයං**
**ඝාතකො'ව රිපූ තස්ස**
**සබ්බත්තා'පි අවාරියො**

මේ ජීවිතය විදුලිය, දිය බුබුල, පිණි බිඳුව, දියෙහි ඇඳි ඉර, යන මේවා මෙන් ඇතිවී නැතිවී යයි. සතුරෙකු මෙන් වූ ඒ මාරයාගේ ක්‍රියාව හැම තැනදීම වැළැක්විය නොහැකිය.

**සුයසත්තාම පුඤ්ඤිද්ධි**
**බුද්ධි වුද්ධෙ ජිනද්දයං**
**ඝාතෙසි මරණං කිප්පං**
**කාතු මාදිසකෙ කථා**

මේ මාරයා කීර්තිය ඇති, කාය බල ඇති, ඥාණ බල ඇති, පින් ඇති, ඍද්ධි බල ඇති, බුද්ධිය ඇති,

බුදුරදුන්ට පවා දයාවක් නොකරමින් වහාම උන්වහන්සේ ඝාතනය කළේය. මා වැන්නකු ගැන කුමන කථා ද?

**පච්චයානඤ්ච වෙකල්‍යා**
**බාහිරජ්ඣත්තු'පද්දවා**
**මරාමොරං නිමෙසා'පි**
**මරමානො අනුක්ඛණං'ති**

මොහොතක් පාසා මරණයට පත්වන මම නාමරූප ධර්මයන්ගේ විනාශය අනුවද, ආහාර පානාදිය නොලැබීමෙන් ද, බාහිර උපද්‍රව වලින් ද, අභ්‍යන්තර ලෙඩ වලින් ද, අඩු වෙලාවක් ඇතුළත මිය යන්නෙමි.

## අට වැදෑරුම් සංවේග වස්තු

**භාවෙත්වා චතුරා රක්ඛා**
**ආවජ්ජෙය්‍ය අනන්තරං**
**මහා සංවේග වත්ථූනි**
**අට්ඨ අට්ඨිත වීරියො**

පළමුව සිවු වැදෑරුම් ආරක්‍ෂක කරුණු වඩා, අනතුරුව නොපසුබස්නා උත්සාහ ඇති තැනැත්තා විසින් අෂ්ඨමහා සංවේගයට හේතුවන කරුණු කල්පනා කර බැලිය යුතුය.

**ජාති ජරා ව්‍යාධි චුතී අපායා**
**අතීත අපත්තක වට්ට දුක්ඛං**

**ඉදානි ආහාර ගවෙට්ඨි දුක්ඛං**
**සංවේග වත්ථූනි ඉමානි අට්ඨ**

ඉපදීම, මහලුවීම, ලෙඩරෝග, මරණය, අපාය වල ඉපදීම, පෙර සංසාරයෙහි දී ලද අත් ගැහැට, අනාගතයේ දී ලද හැකි සසර ගැහැට, දැන් මේ ආත්මයෙහි ආහාර පාන සෙවීමෙහි දුක, යන මේ අට සංවේගයට පැමිණීමට හේතු කරුණු වේ.

**පාතො ච සාය'මපි චේ'ව ඉමං විධිඤ්ඤූ**
**ආසෙවතෙ සතත මත්ත හිතාභිලාසී**
**පප්පොති සො ති විපුලං හතපාරි පන්ථො**
**සෙට්ඨං සුඛං මුනිවිසිට්ඨමතං සුඛෙන චා'ති**

නිතර තම යහපත ගැන කැමති මේ අෂ්ඨ සංවේග වස්තු දන්නා වූ යමෙක් උදෑසන ද සවස ද මෙසේ ඒ කරුණු පුහුණු කෙරේ ද හෙතෙම නසන ලද උවදුරු ඇතිව උතුම් වූ බුදුන් විසින් පසස්නා ලද ඉතා මහත් වූ නිවන් සැපයට සුවසේ පැමිණෙයි.

## සල්ල සූත්‍රය

**අනිමිත්ත මනඤ්ඤාතං**
**මච්චානං ඉධ ජීවිතං**
**කසිරඤ්ච පරිත්තඤ්ච**
**තඤ්ච දුක්ඛෙන සඤ්ඤුතං**

මෙලොව මිනිසුන්ගේ ජීවිතය, (මරණය හඟවන) නිමිති රහිතය. (එහෙයින්ම) මරණය සිදුවීම දැනගත නොහැකිය. ඒ ජීවිතය දුක් සහගත ද වේ. සුළු කාලයකට සීමාද වේ, දුකින් යුක්තය.

**න හි සො උපක්කමො අත්ථි**
**යෙන ජාතා න මීයරෙ**
**ජරම්පි පත්වා මරණං**
**එවං ධම්මා හි පාණිනො**

උපත ලැබූ සත්වයන්ට නොමැරී සිටිය හැකි උපක්‍රමයක් නැත. මහළු වියට පැමිණ ද (නොපැමිණ ද) මරණයට පත් වෙයි. ජීවත් වන සත්වයන්ට ඇත්තේ මෙබඳු ස්වභාවයකි.

**ඵලාන'මිව පක්කානං**
**පාතො පතනතො භයං**
**එවං ජාතානමච්චානං**
**නිච්චං මරණතො භයං**

ඉදුණු ගෙඩි වලට උදෑසන බිම වැටීමෙන් වන්නාවූ බිය යම් සේ ද, මෙසේ උපන් සතවයින්ට නිතර මරණය නිසා භය ඇති වේ.

**යථාපි කුම්භකාරස්ස**
**කතා මත්තික භාජනා**
**සබ්බෙ භෙදනපරියන්තා**
**එවං මච්චාන ජීවිතං**

යම්සේ කුඹලා විසින් සාදන ලද සියළු මැටි බඳුන් බිඳීයාමෙන් කෙළවරවේ ද, සත්වයන්ගේ ජීවිතය ද මෙබඳුය.

**දහරා ච මහන්තා ච**
**යෙ බාලා යෙ ච පණ්ඩිතා**
**සබ්බෙ මච්චුවසං යන්ති**
**සබ්බේ මච්චු පරායනා**

ළදරුවෝ ද, වැඩිහිටියෝ ද, මෝඩ වූ යමෙක් වෙත්නම් ඔවුහු ද, පණ්ඩිත වූ යමෙක් වෙත් නම් ඔවුහු ද යන ඒ සියල්ලෝම, මාරයාගේ වසඟයට යත්. සියල්ලෝ මාරයාට අවනත වූවාහුය.

**තෙසං මච්චු පරෙතානං**
**ගච්ඡතං පරලෝකතො**
**න පිතා තායතෙ පුත්තං**
**ඤාතී වා පන ඤාතකෙ**

මරණයෙන් මැඬී සිටින්නවුන් පරලොවට යාමෙහිදී (එයින් මුදවා ගැනීම සඳහා) පියාට පුතු ආරක්ෂා කළ නොහැකි වෙයි. ඥාතීන් මුදවා ගැනීමට අනෙක් ඥාතීන්ට නොහැකිවෙයි.

**පෙක්ඛතං යෙව ඤාතීනං**
**පස්ස ලාලපතං පුථු**
**එකමෙකොව මච්චානං**
**ගොවජ්ඣො විය නීයති**

නෑදෑයන් බොහෝ සෙයින් වැළපෙමින් බලා
සිටියදී තනිවම මරණයට යයි. ගව ඝාතකයෙකු ගවයන්
වධකස්ථානයට ගෙන යන විටක මෙනි.

**එව’මබ්භාහතො ලොකො**
**මච්චුනා ච ජරාය ච**
**තස්මා ධීරා න සොචන්ති**
**විදිත්වා ලොකපරියායං**

ලෝ වැස්සා මෙසේ මරණයෙන් ද මහළු බවට පත්
වීමෙන් ද මඬනා ලද්දේ වෙයි. එබැවින් නුවණැත්තෝ
ලෝකස්වභාවය තේරුම් ගෙන, දැන ශෝක නොකරති.

**යස්ස මග්ගං න ජානාසි**
**ආගතස්ස ගතස්ස වා**
**උභො අන්තෙ අසම්පස්සං**
**නිරත්ථං පරිදෙවසි**

ඉපදීම් වශයෙන් මවු කුසට ආවාවූ හෝ, මැරී
මෙලොවින් ඉවත්ව ගියාවූ හෝ, යමෙකුගේ, මෙලොවට
පැමිණි හෝ මෙලොවින් නික්ම ගිය, මාර්ගය මෙය යයි,
ඔබ නොදන්නෙහිය, ඒ කෙළවර දෙක හෙවත් ආවේ
කොහි සිට ද ගියේ කොතැනට ද යන කරුනු දෙක,
දැකීමට අසමත් වෙමින්, ප්‍රයෝජන රහිත ලෙස,
මියගියවුන් උදෙසා ඔබ වැළපෙන්නෙහි ය.

**පරිදෙවය මානො චෙ**
**කිඤ්චිදත්ථං උදබ්බහෙ**
**සම්මූළ්හො හිංසමත්තානං**

**කයිරා චෙනං විචක්ඛණො**

ඉදින් මුළාවට පත්ව තමන්ට පීඩා කර ගනිමින්
වැළපෙන තැනැත්තා එමගින් යම් යහපතක් උදා
කර ගන්නේ නම් බුද්ධිමතා ද එය කළ යුතු වන්නේය.

**න හි රුණ්ණෙන සොකෙන**
**සන්තිං පප්පොති චෙතසො**
**භිය’ස්සු’ප්පජ්ජතෙ දුක්ඛං**
**සරීරං චු’පහඤ්ඤති**

මළහු උදෙසා හැඬීමෙන් හෝ ශෝක කිරීමෙන් හෝ,
සිතේ සැනසීමකට නොපැමිණෙයි. එසේ හඬන, ශෝක
කරන්නාට වඩ වඩාත් දුක උපදියි. ඔහුගේ සිරුර ද
පීඩාවට පත් වේ.

**කිසො විවණ්ණො භවති**
**හිංස’මත්තාන’මත්තනා**
**න තෙන පෙතා පාලෙන්ති**
**නිරත්ථා පරිදෙවනා**

ශෝක කිරීමෙන් තමා විසින් ම තමා පීඩාවට පත්
කරගනී, සිරුර කෘශ වීමද, දුර්වර්ණ වීමද, සිදු වේ. ඒ
හැඬීම් ශෝක කිරීමෙන්, පරලොව ගිය තැනැත්තෝ,
නොරැකෙත්, එබැවින් වැළපීම ප්‍රයෝජන රහිත වේ.

**සොකමප්පජහං ජන්තු**
**භීයො දුක්ඛං නිගච්ඡති**
**අනුත්ථුනන්තො කාලකතං**

## සොකස්ස වස'මන්වග්ග

ශෝක කිරීම අත් නොහරින්නා වූ පුද්ගලයා වඩ වඩාත් දුකට පත්වේ. කාලක්‍රියා කළ තැනැත්තා වෙනුවෙන් නැවත නැවත ශෝක කරන්නා ශෝක වසඟයට ම, ගියේ වේ.

**අඤ්ඤෙපි පස්ස ගමිනො**
**යථා කම්මූපගෙ නරෙ**
**මච්චුනො වසමාගම්ම**
**ඵන්දන්තෙ විධ පාණිනො**

තමන්ගේ කර්මානුරූපව මිය පරලොව යන වෙනත් සත්වයන් දෙස ද බලන්න. මේ ලෝකයෙහි සත්වයෝ මාරයාගේ වසඟයට පත්ව සැළෙති.

**යෙන යෙන හි මඤ්ඤන්ති**
**තතො තං හොති අඤ්ඤථා**
**එතාදිසො විනාභාවො**
**පස්ස ලොකස්සපරියායං**

යම් යම් ආකාරයන්ගෙන් මිනිස්සු යමක් ගැන සිතත් ද ඒ දෙය ඒ සිතන ආකාරයෙන් වෙනස් වෙයි. වස්තූන්ගේ වෙනස් බව එබඳුය. ලෝකයෙහි ස්වභාවය දෙස බලන්න.

**අපි චෙ වස්ස සතං ජීවෙ**
**භීයො වා පන මානවො**
**ඤාති සංඝා විනා හොති**
**ජහාති ඉධ ජීවිතං**

යම් හෙයකින් මිනිසාට, අවුරුදු සියයක් හෝ ඊට වැඩි කාලයක් හෝ ජීවත් වීමට හැකි වූවත්, කෙදිනක හෝ නෑ සමූහයා ගෙන් වෙන් වී, මෙ ලොව ජීවිතය අත්හැර දමා යාමට සිදු වෙයි.

**තස්මා අරහතො සුත්වා**
**විනෙය්‍ය පරිදෙවිතං**
**පෙතං කාලකතං දිස්වා**
**නෙ සො ලබ්භා මයා ඉති**

එබැවින් බුදුන් වහන්සේගේ ධර්මයට සවන් දී මිය ගිය පුද්ගලයා දෙස බලා අපට ඔහු නැවත ලබා ගත නොහැකි යයි දැන හැඬීම පාලනය කර ගන්න.

**යථා සරණ’මාදිත්තං**
**වාරිනා පරිනිබ්බයෙ**
**එවම්පි ධීරො සප්පඤ්ඤො**
**පණ්ඩිතො කුසලො නරො**
**ඛිප්ප’මුප්පතිතං සොකං**
**වාතො තූලං’ව ධංසයෙ**

යම් සේ ගිනිගත් ගෙයක් ජලයෙන් නිවා දමන්නේ ද, එපරිද්දෙන් ධෛර්යවත් නුවණැති දක්ෂ පුද්ගලයා හටගත් ශෝකය, වහා සුළඟ පුළුන් නෙරපා හරින්නාක් මෙන් ඉවත් කරන්නේය.

**පරිදෙවං පජප්පඤ්ච**
**දොමනස්සං ච අත්තනො**
**අත්තනො සුඛ’මෙසානො**

**අබ්බහෙ සල්ල'මත්තනො**

තමන්ගේ සුභසිද්ධිය බලාපොරොත්තු වන පුද්ගලයා තමන්ගේ වැළපීම ද, (අහෝ මගේ නෑයා යයි) නිතර නිතර මුමුනමින් කල් ගෙවීම ද, දොම්නස ද, (යන මේ) හුල් තමා තුළින් උදුරා දැමිය යුතුය.

**අබ්බූළ්හසල්ලො අසිතො**
**සන්තිං පප්පුය්‍ය චෙතසො**
**සබ්බසොකං අතික්කන්තො**
**අසොකො හොති නිබ්බුතො'ති**

උදුරා දැමූ යහුල් ඇති, ඇලීම් නැති, තැනැත්තේ මානසික ශාන්තියට පැමිණ, සියළු ශෝක ඉක්මවමින් ශෝක නැතිව නිවුනේ වෙයි.

## විජය සූත්‍රය

**චරං වා යදි වා තිට්ඨං**
**නිසින්නො උදවා සයං**
**සම්ඤ්ජේති පසාරෙති**
**එසා කායස්ස ඉඤ්ජනා**

ඇවිදිමින් හෝ සිටිමින් හෝ හිඳිමින් එසේත් නැතහොත් නිදමින් අවයව දිගු කරයි. හකුළුවයි. මේ ශරීරයෙහි ඉරියවුය.

**අට්ඨී නහාරු සංයුත්තො**
**තචමංසා'වලෙපනො**

**ඡවියා කායො පටිච්ඡන්නො**
**යථාභූතං න දිස්සති**

මෙම ශරීරය ඇට හා නහරවලින් සංයුක්තය. සම් මස්වලින් වට කොට ඇත. සමෙන් සැඟවී ඇත. එවන් වූ මෙම ශරීරය ඇති සැටියෙන් දක්නට නොලැබෙයි.

**අන්තපූරො උදර පූරො**
**යකපෙළස්ස වත්ථිනො**
**හදයස්ස පප්ඵාසස්ස**
**වක්කස්ස පිහකස්ස ච**

මෙම සිරුර බඩවැලින් පිරුණේ වේ. නොපැසුණු අහරින් පිරුණේ වේ. අක්මාවෙන් ද, අධෝ මාර්ගයෙන් ද, හෘදය වස්තුවෙන් ද, පෙණහළු වලින් ද, වකුගඩුවලින් හා බඩදිවෙන් ද පිරුණේ වේ.

**සිංඝාණිකාය ඛෙළස්ස**
**සෙදස්ස මෙදස්ස ච**
**ලොහිතස්ස ලසිකාය**
**පිත්තස්ස ච වසාය ච**

මෙම ශරීරය සොටු වලින්, කෙළ වලින්, දහඩියෙන්, මේදයෙන්, රුධිරයෙන්, සඳමිඳුළු වලින්, පිතෙන් හා වුරුණු තෙලින් ද පිරුණෝ වේ.

**අථ'ස්ස නවහි සොතෙහි**
**අසුචී සවති සබ්බදා**
**අක්ඛිම්හා අක්ඛිගූථකො**

**කණ්ණම්හා කණ්ණගූථකො**

තව දුරටත් එම ශරීරයේ නව දොරකින් සියළුකල්හි අපවිත්‍ර දේ වැගිරෙයි. ඇසින් කබ ද, කණින් කළාඳුරු ද, වැගිරෙයි.

**සිංඝාණිකා ච නාසාතො**
**මුඛෙන වමතෙ'කදා**
**පිත්තං සෙම්හඤ්ච වමති**
**කායම්හා සෙදජල්ලිකා**

නැහැයෙන් සොටු ද, ඇතැම් විටෙක මුඛයෙන් වමනය ද, පිත හා සෙම ද, ශරීරයෙන් අපිරිසිදු දහඩිය ද පිටතට වැගිරෙයි.

**අථ'ස්ස සුසිරං සීසං**
**මත්ථලුඞ්ගස්ස පූරිතං**
**සුභතො නං මඤ්ඤතී බාලො**
**අවිජ්ජාය පුරක්ඛතො**

තව ද මෙම ශරීරයේ සිදුරු සහිත හිස මොළයෙන් පිරී ඇත. එහෙත් මෝඩයා අවිද්‍යාව පෙරටු කොට ගෙන මෙම ශරීරය යහපත් දෙයක් ලෙස හඟියි.

**යදා ච සො මතො සෙති**
**උද්ධුමාතො විනීලකො**
**අපවිද්ධො සුසානස්මිං**
**අනපෙක්ඛා හොන්ති ඤාතයො**

යම් කලෙක ඒ ශරීරය මැරුණු විට, ඉදිමී නිල්
පැහැ ගැන්වුණු ඒ සිරුර සොහොනෙහි, අත්හැර දමයි,
එවිට මළහුගේ නෑයෝ, මළහු කෙරෙහි බලාපොරොත්තු
හැරදමත්.

**ඛාදන්ති නං සුවාණා ච**
**සිගාලා ච වකා කිමී**
**කාකා ගිජ්ඣා ච ඛාදන්ති**
**යෙ ච'ඤ්ඤෙ සන්ති පාණිනො**

ඒ මළ සිරුර බල්ලෝ ද, සිවල්ලු ද, වෘකයෝ ද, පණුවෝ
ද, කපුටෝ ද, ගිජු ලිහිණියෝ ද, එවැනි වෙනත් සතුන්,
ඇත්නම් ඔවුහු ද, කති.

**සුත්වාන බුද්ධවචනං**
**භික්ඛු පඤ්ඤාණවා ඉධ**
**සො ඛො නං පරිජානාති**
**තථාභූතඤ්හි පස්සති**

මේ ශාසනයෙහි, නුවණැති මහණ බුදු වදන් අසා සිටීද,
ඒ මහණ ශරීර ස්වභාවය, හොඳින් අවබෝධ
කරගනී. තත්ත්වාකාරයෙන් ම ශරීර ස්වභාවය දකී.

**යථා ඉදං තථා එතං**
**යථා එතං තථා ඉදං**
**අජ්ඣත්තඤ්ච බහිද්ධා ච**
**කායෙ ඡන්දං විරාජයෙ**

මේ මළ සිරුර වරෙක ඔබ වැනි විය. යම් දිනෙක ඔබ ද මෙම මළ සිරුර වැනි වෙයි. (එසේ දැන) අභ්‍යන්තර හා බාහිර වශයෙන් ශරීරය කෙරෙහි ඇති ඇල්ම දුරු කරන්නේය.

**ඡන්දරාග විරත්තො සො**
**භික්ඛු පඤ්ඤාණවා ඉධ**
**අජ්ඣගා අමතං සන්තිං**
**නිබ්බානං පදමච්චුතං**

මෙම ශාසනයෙහි නුවණැති භික්‍ෂුව ඡන්ද රාගයෙන් මිදුනේ ජරාමරණ නැති ශාන්ත වූ වෙනස් නොවන නිවන් සුවයට පැමිණියේය.

**දිපාදකො'යං අසුචි**
**දුග්ගන්ධො පරිහීරති**
**නානා කුණප පරිපූරො**
**විස්සවන්තො තතො තතො**

මෙම පිළිකුල් සහගත දෙපා ඇති ශරීරය දුගඳ වහනය කරයි. නොයෙක් කුණපයන්ගෙන් පිරී පවතියි. ඒ ඒ තැන් වලින් කුණප කොටස් ගලා යයි.

**එතාදිසෙන කායෙන**
**යො මඤ්ඤෙද උණ්ණාමෙතවෙ**
**පරං වා අවජානෙය්‍ය**
**කිමඤ්ඤත්‍ර අදස්සනා'ති**

මෙබඳු ශරීරයක් තිබියදී යමෙක් තමන් උසස් කොට හඟින්නේ ද අනුන් පහත් කොට සළකන්නේ ද එය සත්‍යය නොදැකීම නිසා සිදුවන්නක් හැර අන් කවරක් ද?

## ප්‍රියයන් ගෙන් වෙන්වීම දුකකි

**ධඤ්ඤං ධනං රජතං ජාතරූපං**
**පරිග්ගහං චාපි යදත්ථි කිඤ්චි**
**දාසා කම්මකරා පෙස්සා**
**යෙ චස්ස අනුජීවිනො**
**සබ්බං නාදාය ගන්තබ්බං**
**සබ්බං නික්ඛිප්ප ගාමිනං**

තමන් සතු සියළු වස්තු ද, දේපල ද, තම දැසි දැස්සන් ද, තමන් ගෙන් යැපෙන්නා වූ අය ද, යන සියළු දේ අත්හැර දමා යා යුතුවේ.

**යඤ්ච කරොති කායෙන**
**වාචාය උද චෙතසා**
**තම්හි තස්ස සකං හොති**
**තඤ්ච ආදාය ගච්ඡති**
**තඤ්චස්ස අනුගං හොති**
**ඡායාව අනපායිනී**

ඒ යන තැනැත්තාට ගෙන යා හැකි වන්නේ, තමන් විසින් කයින් මනසින් ක්‍රියාවෙන් කළ කී දේ පමණි. අත්නොහරින සෙවනැල්ල මෙන් ඒ තැනැත්තා සමග යන්නේ ඒ ක්‍රියා පමණි.

**සබ්බෙ සත්තා මරිස්සන්ති**
**මරණං තං හි ජීවිතං**
**යථා කම්මං ගමිස්සන්ති**
**පුඤ්ඤපාප ඵලූපගා**
**නිරයං පාපකම්මන්තා**
**පුඤ්ඤකම්මා ච සුග්ගතිං**
**තස්මා කරෙය්‍ය කල්‍යාණං**
**නිච්චං සම්පරායිකං**
**පුඤ්ඤානි පරලොකස්මිං**
**පතිට්ඨා හොන්ති පානිනං ති**

සියලු සත්වයෝ මරණයට පත්වෙති. ජීවය කෙළවර වන්නේ මරණයෙනි. මිනිසුන් ගේ ඉරණම තැනෙන්නේ ඔවුන් ගේ ක්‍රියාවලට අනුවයි. ඔවුන් විසින් රැස් කරගන්නා ලද කුසලාකුසල ප්‍රතිඵල වලට අනුව ඔවුනට මරණින් මත්තේ ජීවිතය තීරණය වේ. අකුසල් ක්‍රියාවේ යෙදෙන්නෝ අපායට යති. කුසල් ක්‍රියා කළ අය දෙව් ලොව යති. ඒ නිසා හැමෝම පින් දහම් කුසල් කළ යුතුවේ. ඒ කුසල් අන් තැනක උපන් කල ප්‍රයෝජනවත් වේ. කෙනෙකු විසින් කරන ලද පුණ්‍ය ක්‍රියා මතු ආත්මයේ දී ඒ තැනැත්තාට මනා පිහිටක් වේ.

## ජීවිතය අනියතයි - මරණය නියතයි

**අනිච්චා වත සංඛාරා**
**උප්පාදවයධම්මිනො**
**උප්පජ්ජිත්වා නිරුජ්ඣන්ති**
**තෙසං වූපසමො සුඛො** (තුන් වරක් කියන්න)

සියලු සංස්කාරයෝ අනිත්‍යයහ. ඒ සංස්කාර ධර්‍ම ඇතිවීම හා නැතිවීම යන ලක්‍ෂණ සහිතය. සියලු සත්වයෝ උත්පත්තිය ලබති. පසුව ඔවුන් ගේ ජීවිත ගමන නවතී. මේ උපත පිළිබඳ ක්‍රියාදාමය නිමාවීම සැපතකි.

**අචිරං වත’යං කායො**
**පඨවිං අධිසෙස්සති**
**ඡුද්ධො අපෙතවිඤ්ඤාණො**
**නිරත්ථ’ව කලිංගරං**

ඉතා ඉක්මනින් මේ කය මහ පොළොව මත වැතිරේ. ජීවයෙන් තොර ඒ කය එවිට ලී කොටයක් සේ නොවටනේ ය.

**අනබ්භිතො තතො ආග**
**අනනුඤ්ඤාතො ඉතො ගතො**
**යථා’ගතො තථා ගතො**
**තත්ථ කා පරිදෙවනා**

ඔහු මෙහි ආවේ ආරාධනයකින් තොරවය. එසේ ම ඔහු මෙලොවින් නික්ම යන්නේත් දැනුම් දීමකින් තොරවය. ඔහු ආයේ යම්සේ ද ඔහු ගියේත් එසේමය. එසේ නම් ඇඬීම් වැලපීම් වල අරුත කුමක් ද?

**පුත්තා ම’ත්ථි ධනං ම’ත්ථි**
**ඉති බාලො විහඤ්ඤති**
**අත්තා හි අත්තනො නත්ථි**
**කුතො පුත්තා කුතො ධනං**

අඥානයෝ මෙවැනි සිතුවිලි වලින් දුක් විඳිති. මට දරුවෝ සිටිති. මට ධනය ඇත්තේ ය. තමාට තමාවත් නැති කළ තමන්ට දූ දරුවෝ ධනය කොයින් ද?

## තිලක්ඛණ

**සබ්බෙ සංඛාරා අනිච්චා'ති**
**යදා පඤ්ඤාය පස්සති**
**අථ නිබ්බින්දති දුක්ඛෙ**
**එස මග්ගො විසුද්ධියා**

සියලු සංස්කාරයෝ අනිත්‍ය යැයි යමෙකු බුද්ධියෙන් දකින්නේ ද, එවිට ඔහු දුක ගැන කලකිරෙයි. මෙය විශුද්ධියට මාර්ගයයි.

**සබ්බෙ සංඛාරා දුක්ඛා'ති**
**යදා පඤ්ඤාය පස්සති**
**අථ නිබ්බින්දති දුක්ඛෙ**
**එස මග්ගො විසුද්ධියා**

සියලු සංස්කාරයෝ දුක් සහිත යැයි යමෙකු බුද්ධියෙන් දකින්නේ ද, එවිට ඔහු දුක ගැන කලකිරෙයි. මෙය විශුද්ධියට මාර්ගයයි.

**සබ්බෙ ධම්මා අනත්තා'ති**
**යදා පඤ්ඤාය පස්සති**
**අථ නිබ්බින්දති දුක්ඛෙ**
**එස මග්ගො විසුද්ධියා**

සියලු ධර්මතා අනාත්ම යැයි යමෙකු ප්‍රඥාවෙන් අවබෝධ කොට ගනී ද, එවිට දුක ගැන කලකිරෙයි. මෙය විශුද්ධියට මාර්ගයයි.

## ලෞකික ස්වභාවය

**හා! යොබ්බනා ජරා අන්තා**
අහෝ! තරුණකම මහලු වීමෙන් කෙළවර වේ.

**හා! විනාසා මහද්ධනා**
අහෝ! මහා ධනස්කන්ධ විනාශ වීමෙන් කෙළවර වේ.

**හා! සංයොගා වියොගන්තා**
අහෝ! එක්වීම් වෙන්වීමෙන් කෙළවර වේ.

**හා! මතන්තා සජීවකා**
අහෝ! ජීවිතය මරණයෙන් කෙළවර වේ.

**හා! උන්නතා ඕනතන්තා**
අහෝ! ඉහළට නැඟීම් පහළට වැටීමෙන් කෙළවර වේ.

**හා! පියා සෝක අන්තකා**
අහෝ! සතුට ශෝකයෙන් කෙළවර වේ.

**හා! ථොමනා විනින්දන්තා**
අහෝ! ප්‍රශංසාව නින්දාවෙන් කෙළවර වේ.

**හා! දුක්ඛා සබ්බසො සුඛා**
අහෝ! කවරාකාර සතුටක් වුව ද දුකෙන් කෙළවර වේ.

# ඤාතීන්ට පින් දීම

**ඉදං මෙ ඤාතීනං හොතු**
**සුඛිතා හොන්තු ඤාතයො**

මවිසින් රැස් කරන ලද මෙම පින් මගේ ඥාතීන්ට
අනුමෝදන් වේවා. නෑයෝ සුවපත් වෙත්වා.

**ඉදං මෙ ඤාතීනං හොතු**
**සුඛිතා හොන්තු ඤාතයො**

මවිසින් රැස් කරන ලද මෙම පින් මගේ ඥාතීන්ට
අනුමෝදන් වේවා. නෑයෝ සුවපත් වෙත්වා.

**ඉදං මෙ ඤාතීනං හොතු**
**සුඛිතා හොන්තු ඤාතයො**

මවිසින් රැස් කරන ලද මෙම පින් මගේ ඥාතීන්ට
අනුමෝදන් වේවා. නෑයෝ සුවපත් වෙත්වා.



# තෙවන කොටස 64 -109 සෙත් පිරිත්

# මහා ජයමංගල ගාථා

මහාකාරුණිකො නාථො
හිතාය සබ්බපාණිනං
පූරෙත්වා පාරමී සබ්බා
පත්තො සම්බොධි මුත්තමං
ඒතේන සච්ච වජ්ජේන
හෝතු තෙ ජයමංගලං

ජයන්තො බොධියා මූලේ
සක්‍යානං නන්දි වඩ්ඪනො
ඒවං තුය්හං ජයො හෝතු
ජයස්සු ජයමංගලං

සක්කත්වා බුද්ධ රතනං
ඕසධං උත්තමං වරං
හිතං දේවමනුස්සානං
බුද්ධ තේජේන සොත්ථිනා
නස්සන්තු පද්දවා සබ්බේ
දුක්ඛා වූපසමෙන්තු තෙ

සක්කත්වා ධම්ම රතනං
ඕසධං උත්තමං වරං
පරිළාහූපසමනං
ධම්ම තේජේන සොත්ථිනා

නස්සන්තු පද්දවා සබ්බේ
භයා වූපසමෙන්තු තෙ

සක්කත්වා සංඝ රතනං
ඕසධං උත්තමං වරං
ආහුනෙය්‍යයං පාහුනෙය්‍යයං
සංඝ තේජේන සොත්ථිනා
නස්සන්තු පද්දවා සබ්බේ
රොගා වූපසමෙන්තු තෙ

යං කිඤ්චි රතනං ලොකේ
විජ්ජති විවිධා පුථු
රතනං බුද්ධ සමං නත්ථි
තස්මා සොත්ථි භවන්තු තෙ

යං කිඤ්චි රතනං ලොකේ
විජ්ජති විවිධා පුථු
රතනං ධම්ම සමං නත්ථි
තස්මා සොත්ථි භවන්තු තෙ

යං කිඤ්චි රතනං ලොකේ
විජ්ජති විවිධා පුථු
රතනං සංඝ සමං නත්ථි
තස්මා සොත්ථි භවන්තු තෙ

නත්ථි මේ සරණං අඤ්ඤං
බුද්ධො මේ සරණං වරං
ඒතේන සච්ච වජ්ජේන
හෝතු තෙ ජයමංගලං

නත්ථි මේ සරණං අඤ්ඤං
ධම්මො මේ සරණං වරං
ඒතේන සච්චවජ්ජේන
හෝතු තෙ ජයමංගලං

නත්ථි මේ සරණං අඤ්ඤං
සංඝො මේ සරණං වරං
ඒතේන සච්ච වජ්ජේන
හෝතු තෙ ජයමංගලං

සබ්බීතියො විවජ්ජන්තු
සබ්බරොගො විනස්සතු
මා තෙ භවත්වන්තරායො
සුඛී දීඝායුකො භව

භවතු සබ්බමංගලං
රක්ඛන්තු සබ්බ දේවතා
සබ්බ බුද්ධානුභාවේන
සදා සොත්ථි භවන්තු තෙ

භවතු සබ්බමංගලං
රක්ඛන්තු සබ්බ දේවතා
සබ්බ ධම්මානුභාවේන
සදා සොත්ථි භවන්තු තෙ

භවතු සබ්බමංගලං
රක්ඛන්තු සබ්බ දේවතා
සබ්බ සංඝානුභාවේන
සදා සොත්ථි භවන්තු තෙ

නක්ඛත්ත යක්ඛභූතානං
පාපග්ගහනිවාරණා
පරිත්තස්සානුභාවේන
හන්තු තේසං උපද්දවේ

## ඇණවුම් පිරිත

යෙ සන්තා සන්ත චිත්තා තිසරණ සරණා එත්ථ
ලොකන්තරේ වා - භූම්මා භූම්මා ච
දෙවා ගුණගණගහණබ්‍යාවටා සබ්බකාලං,
ඒතෙ ආයන්තු දේවා වරකනකමයේ මේරුරාජේ
වසන්තෝ සන්තො සන්තො සහේතුං මුනිවර වචනං
සොතුමග්ගං සමග්ගං.

සබ්බේසු චක්කවාළේසු,

යක්ඛා දේවා ච බ්‍රහ්මුනෝ
යං අම්හේහි කතං පුඤ්ඤං,
සබ්බසම්පත්තිසාධකං,

සබ්බේ තං අනුමෝදිත්වා,
සමග්ගා සාසනේ රතා,
පමාදරහිතා හොන්තු,
ආරක්ඛා සුවිසේසතෝ

සාසනස්ස ච ලෝකස්ස, වුද්ධි භවතු සබ්බදා
සාසනම්පි ච ලෝකඤ්ච, දේවා රක්ඛන්තු සබ්බදා,
සද්ධිං හොන්තු සුඛී සබ්බේ, පරිවාරේහි අත්තනෝ,
අනීඝා සුමනා හොන්තු සහ සබ්බේහි ඤාතිභි

රාජතෝ වා චෝරතෝ වා මනුස්සතෝ වා
අමනුස්සතෝ වා අග්ගිතෝ වා උදකතෝ වා පිසාචතෝ
වා ඛාණුකතෝ වා කණ්ඨකතෝ වා නක්ඛත්තතෝ වා
ජනපදරෝගතෝ වා අසද්ධම්මතෝ වා අසන්දිට්ඨිතෝ වා
අසප්පුරිසතෝ වා

චණ්ඩහත්ථි - අස්ස මිග ගෝණ කුක්කුර අහිවිච්ඡික
මණිසප්පදීපි අච්ඡතරච්ඡ සූකර - මහිස යක්ඛරක්ඛසාදීහි
නානාභයතෝ වා නානාරෝගතෝ වා නානාඋපද්දවතෝ
වා ආරක්ඛං ගණ්හන්තු.

## ජිනපඤ්ජරය

ජයාසනගතා වීරා
ජෙත්වා මාරං සවාහිණිං
චතුසච්චාමතරසං
යෙ පිවිංසු නරාසභා

තණ්හංකරාදයෝ බුද්ධා
අට්ඨවීසති නායකා
සබ්බේ පතිට්ඨිතා තුය්හං
මත්ථකෙ තේ මුනිස්සරා

සිරෙ පතිට්ඨිතා බුද්ධා
ධම්මෝච තව ලෝචනේ
සංඝෝ පතිට්ඨිතෝ තුය්හං
උරේ සබ්බගුණාකරෝ

හදයෙ අනුරුද්ධෝ ච
සාරිපුත්තෝ ච දක්ඛිණෝ
කොණ්ඩඤ්ඤෝ පිට්ඨිභාගස්මිං
මොග්ගල්ලානෝසි වාමකෙ

දක්ඛිණෝ සවණෝ තුය්හං
ආහුං ආනන්ද රාහුලා
කස්සපෝ ච මහානාමෝ
උභෝසුං වාමසෝතකේ

කේසන්තේ පිට්ඨිභාගස්මිං
සුරියෝ විය පභංකරෝ
නිසින්නෝ සිරිසම්පන්නෝ
සෝභිතෝ මුනිපුංගවෝ

කුමාරකස්සපෝ නාම
මහේසී චිත්‍රවාදකෝ
සෝ තුය්හං වදනේ නිච්චං
පතිට්ඨාසි ගුණාකරෝ

පුණ්ණෝ අංගුලිමාලෝ ච
උපාලි නන්ද සීවලි
ථෙරා පඤ්ච ඉමේ ජාතා
ලලාටේ තිලකා තව

සේසාසීති මහාථෙරා
විජිතා ජිනසාවකා
ජලන්තා සීලතේජේන
අංගමංගේසු සණ්ඨිතා

රතනං පුරතෝ ආසි
දක්ඛිණේ මෙත්තසුත්තකං
ධජග්ගං පච්ඡතෝ ආසි
වාමේ අංගුලිමාලකං

ඛන්ධ මෝර පරිත්තං ච
ආටානාටිය සුත්තකං
ආකාසච්ඡදනං ආසි
සේසා පාකාරසඞ්ඛිතා

ජිනා’ණාබල සංයුත්තේ
ධම්මපාකාර’ලංකතේ
වසතෝ තේ චතුකිච්චේන
සදා සම්බුද්ධපඤ්ජරේ

වාතපිත්තාදිසඤ්ජාතා
බාහිරජ්ඣත්තු’පද්දවා
අසේසා විලයං යන්තු
අනන්තගුණ තේජසා

ජිනපඤ්ජර මජ්ඣට්ඨං
විහරන්තං මහීතලේ
සදා පාලෙන්තු ත්වං සබ්බේ
තේ මහාපුරිසා’සභා

ඉච්චේව මච්චන්ත කතෝ සුරක්ඛෝ
ජිනානුභාවේන ජිතූපපද්දවෝ
බුද්ධානුභාවේන හතාරිසංඝෝ
චරාහි සද්ධම්මනුභාවපාලිතෝ

ඉච්චේව මච්චන්තකතෝ සුරක්ඛෝ
ජිනානුභාවේන ජිතූපපද්දවෝ
ධම්මානුභාවේන හතාරිසංඝෝ
චරාහි සද්ධම්මනුභාවපාලිතෝ

ඉච්චේව මච්චන්තකතෝ සුරක්ඛෝ
ජිනානුභාවේන ජිතූපපද්දවෝ
සංඝානුභාවේන හතාරිසංඝෝ
චරාහි සද්ධම්මනුභාවපාලිතෝ

සද්ධම්මපාකාරපරික්ඛිතෝසි
අට්ඨා’රියා අට්ඨදිසාසු හොන්ති
එත්ථන්තරේ අට්ඨනාථා භවන්ති
උද්ධං විතානං ච ජිනා ඨිතා තේ

භින්දන්තෝ මාරසේනං තව සිරසි ඨිතෝ බෝධිමාරුය්හ සත්ථා
මොග්ගල්ලානෝසි වාමේ වසති භුජතටේ දක්ඛිණේ සාරිපුත්තෝ
ධම්මෝ මජ්ඣේ උරස්මිං විරහති භවතෝ-මොක්ඛතෝ මෝරයෝනිං
සම්පත්තෝ බෝධිසත්තෝ චරණ යුගගතෝ භානුලෝකේකනාථෝ

සබ්බාවමඞගලමුපද්දවදුන්නිමිත්තං
සබ්බීතිරෝග ගහදෝසමසේසනින්දා
සබ්බන්තරාය භය දුස්සුපිනං අකන්තං
බුද්ධානුභාවපවරේන පයාතු නාසං

සබ්බාවමඞගලමුපද්දවදුන්නිමිත්තං
සබ්බීතිරෝග ගහදෝසමසේසනින්දා
සබ්බන්තරාය භය දුස්සුපිනං අකන්තං
ධම්මානුභාවපවරේන පයාතු නාසං

සබ්බාවමඞගලමුපද්දවදුන්නිමිත්තං
සබ්බීතිරෝග ගහදෝසමසේසනින්දා
සබ්බන්තරාය භය දුස්සුපිනං අකන්තං
සංඝානුභාවපවරේන පයාතු නාසං

## අටවිසි පිරිත

තණ්හංකරෝ මහාවීරෝ
මේධංකරෝ මහායසෝ
සරණංකරෝ ලෝකහිතෝ
දීපංකරෝ ජුතින්ධරෝ

කොණ්ඩඤ්ඤෝ ජනපාමොක්ඛෝ
මංගලෝ පුරිසාසභෝ
සුමනෝ සුමනෝ ධීරෝ - රේවතෝ රතිවද්ධනෝ

සෝභිතෝ ගුණසම්පන්නෝ
අනෝමදස්සී ජනුත්තමෝ
පදුමෝ ලෝකපජ්ජෝතෝ
නාරදෝ වරසාරථී

පදුමුත්තරෝ සත්තසාරෝ
සුමේධෝ අග්ගපුග්ගලෝ
සුජාතෝ සබ්බලෝකග්ගෝ
පියදස්සී නරාසභෝ

අත්ථදස්සී කාරුණිකෝ
ධම්මදස්සී තමෝනුදෝ
සිද්ධත්ථෝ අසමෝ ලෝකේ
තිස්සෝ වරදසංවරෝ

ඵුස්සෝ වරදසම්බුද්ධෝ
විපස්සීච අනූපමෝ
සිඛී සබ්බහිතෝ සත්ථා
වෙස්සභූ සුඛදායකෝ

කකුසන්ධෝ සත්ථවාහෝ
කෝණාගමනෝ රණඤ්ජහෝ
කස්සපෝ සිරිසම්පන්නෝ
ගෝතමෝ සක්‍යපුංගවෝ

**තේසං සච්චේන සීලේන**
**ඛන්ති මෙත්ත බලේන ච**
**තේපි තං අනුරක්ඛන්තු**
**ආරෝග්‍යෙන සුඛේන චාති**

**අට්ඨ වීසති මේ බුද්ධා**
**පූරෙත්වා දසපාරමී**
**ජෙත්වා මාරාරිසංගාමං**
**බුද්ධත්තං සමුපාගමුං**
**ඒතේන සච්ච වජ්ජේන**
**හෝතු තේ ජයමංගලං**

## ජය පිරිත

**සිරි ධිති මති තෙජෝ ජය සිද්ධි මහිද්ධි මහා ගුණං**
**අපරිමිත පුඤ්ඤාධිකාරස්ස සබ්බන්තරාය නිවාරණ**
**සමත්ථස්ස භගවතෝ අරහතො සම්මාසම්බුද්ධස්ස**

සෞභාග්‍යයෙන් ද, ධෛර්යයෙන් ද, නුවණින් හා
තේජසින් ද, උප ලක්ෂිත මහා සෘද්ධිමත් වූ,
මහා ගුණයෙන් හා අප්‍රමාණ වූ, පුඤ්ඤමහිමයෙන්
යුක්ත වූ, අනතුරු වැළැක්මෙහි සමත් වූ, භාග්‍යවත්
අරහත් සම්බුදු රජාණන් වහන්සේගේ

**ද්වත්තිංස මහාපුරිස ලක්ඛණානුභාවෙන**
**අසීත්‍යනුබ්‍යඤ්ජන ලක්ඛණානුභාවෙන**
**අට්ඨුත්තරසතමංගල ලක්ඛණානුභාවෙන**
**ඡබ්බණ්ණරංසයානුභාවෙන කේතුමාලානුභාවෙන**
**දසපාරමිතානු භාවෙන දසඋපපාරමිතානු භාවෙන**
**දසපරමත්ථපාරමිතානු භාවෙන**
**සීලසමාධිපඤ්ඤානුභාවෙන**
**බුද්ධානුභාවෙන ධම්මානුභාවෙන**
**සංඝානුභාවෙන තේජානුභාවෙන**
**ඉද්ධියානුභාවෙන බලානුභාවෙන ඤෙය්‍යධම්මානුභාවෙන**
**චතුරාසීතිසහස්ස ධම්මක්ඛන්ධානුභාවෙන**
**නවලෝකොත්තර ධම්මානුභාවෙන අට්ඨංගිකමග්ගානු-**
**භාවෙන අට්ඨසමාපත්‍යානුභාවෙන ඡළභිඤ්ඤානුභාවෙන**
**මෙත්තා කරුණා මුදිතා උපෙක්ඛානු භාවෙන සබ්බ**
**පාරමිතානුභාවෙන රතනත්තය සරණානුභාවෙන තුයිහං**
**සබ්බරෝග සොකඋපද්දවදුක්ඛදෝමනස්සුපායාසා**
**විනස්සන්තු සබ්බසංකප්පා තුයිහං සමිජ්ජන්තු**
**දීඝායුකෝ හෝතු සතවස්සජීවේන සමංගිකෝ හෝතු**
**සබ්බදා**

දෙතිස් මහා පුරුෂලක්ඛණානුභාවයෙන් ද, අසූවක් අනුකුඩා ලකුණුවල ආනුභාවයෙන් ද, සවනක් රැස් ආනුභාවයෙන් ද, කේතුමාලානුභාවයෙන් ද, දසපාරමිතානුභාවයෙන් ද, දසඋපපාරමිතානුභාවයෙන් ද, දසපරමත්ථපාරමිතානුභාවයෙන් ද, සීල සමාධි

පඤද්ඤදා යන ත්‍රිවිධ ශික්ෂාවන්ගේ ආනුභාවනයෙන් ද, බුද්ධ ධම්ම සංඝ යන තෙරුවන් ගේ ආනුභාවයෙන් ද, තේජසින් සෘද්ධියෙන් බලයෙන් දතයුතු දේ දැන වදාරණ ලද්දා වූ, ආනුභාවයෙන් ද, අසූහාරදහසක් ධර්මස්කන්ධයේ ආනුභාවයෙන් ද, නව ලොවුතුරු දහමේ ආනුභාවයෙන් ද, ආර්‍යඅෂ්ඨාංගික මාර්ගයේ ආනුභාවයෙන් ද, අෂ්ඨසමාපත්‍යාණුභාවයෙන් ද, සය අභිඤද්ඤදාවන්ගේ ආනුභාවයෙන් ද, මෙත්තා කරුණා මුදිතා උපෙක්ෂා යන සිවු බඹ විහරණයන්ගේ ආනුභාවයෙන් ද, සියළු පාරමිතාවන්ගේ ආනුභාවයෙන් ද, තෙරුවන්ගේ ආනුභාවයෙන් ද, ඔබගේ සියළු රෝග ශෝක දුරු වේවා. කරදර දුක් දොම්නස් සිත් වේදනා වැනසේවා. ඔබගේ සියළු කල්පනාවන් ඉටු වේවා. සියක් වසක් කල් ජීවත් වීමට ශක්තිය ලැබේවා.

**ආකාස පබ්බත වන භූමි තටාක ගංගා මහා සමුද්ද**
**ආරක්ඛක දේවතා සදා තුම්හෙ අනුරක්ඛන්තු**
**සබ්බබුද්ධානුභාවෙන සබ්බධම්මානුභාවෙන**
**සබ්බසංඝානුභාවෙන බුද්ධරතනං ධම්මරතනං**
**සංඝරතනං තිණ්ණං රතනානං ආනුභාවෙන**
**චතුරාසීතිසහස්ස ධම්මක්ඛන්ධානුභාවෙන**
**පිටකත්තයානුභාවෙන ජිනසාවකානුභාවෙන**
**සබ්බේ තෙ රෝගා සබ්බේ තෙ භයා සබ්බේ තෙ**
**අන්තරායා සබ්බේ තෙ උපද්දවා සබ්බේ**
**තෙ දුන්නිමිත්තා සබ්බේ තෙ අවමංගලා විනස්සන්තු**

සියළු කල්හි, අහස, පර්වත, වන බිම්, තටාක, ගංගා හා මහසයුර, අරක්ගත් දෙවියෝ ඔබගේ රැකවරණය සලසත්වා. සියළු බුදුවරුන්ගේ, සියළු ධර්‍මයේ, සියළු සංඝයාගේ ආනුභාවයෙන්, බුද්ධ ධම්ම හා සංඝ යන තෙරුවන්ගේ ආනුභාවයෙන්, අසූහාරදහසක් ධර්‍මස්කන්ධයේ ආනුභාවයෙන්, ත්‍රිපිටකයේ ආනුභාවයෙන්, බුද්ධශ්‍රාවකයාණන් වහන්සේලාගේ ආනුභාවයෙන්, ඔබගේ සියළු රෝග, සියළු භය, සියළු අනතුරු, සියළු කරදර, සියළු අශුභ නිමිති, සියළු සිත් නොපිනවන දේ වැනසේවා, දුරුවේවා.

**ආයුවඩ්ඪකො ධනවඩ්ඪකො සිරිවඩ්ඪකො යසවඩ්ඪකො බලවඩ්ඪකො වණ්ණවඩ්ඪකො සුඛවඩ්ඪකො හෝතු සබ්බදා**

සියළු කල්හි, ආයුෂෙන්, ධනයෙන්, යසසෙන්, බලයෙන් ද, වර්ණයෙන් හා සැපයෙන් වර්ධනය වේවා.

**දුක්ඛ රොග භයා වෙරා සොකා සබ්බෙ උපද්දවා අනෙකා අන්තරායාපි විනස්සන්තු ච තෙජසා ජයසිද්ධි ධනං ලාභං සොත්ථි භාග්‍යං සුඛං බලං සිරි ආයූ ච වණ්ණෝච භෝගංවුද්ධි ච යසවා සතවස්සා ච ආයූ ච ජීව සිද්ධි භවන්තු තෙ**

දුක් රෝග භය වෛර ශෝක ද, කරදර සමනය වේවා. නොයෙක් අනතුරු අන්තරාවන් ඒ තේජසෙන් විනාස වෙත්වා. ජයසිද්ධිය ද, ධන ලාභය ද, සුව සම්පත, වාසනාව ද, සැප බල හා ආයුෂ ද, වර්ණ සම්පත ද, භෝගයන් ගේ වර්ණය ද, කීර්තිය ද, සිය වසකට අධික කාලයක් ආයු වැඩීම ද, දේව සිද්ධිය ද, ඔබ හට ලැබේවා. සියළු උවදුරු දුරු කෙරේවා. නසා රෝ දුක් බියකරු, නොවේවා අනතුරක් කිසිදා, දිනේවා ආයුෂ දිගු.

## පින් අනුමෝදන් කිරීම

**ඉච්චේවමච්චන්ත නමස්සනෙය්‍යං**
**නමස්සමානො රතනත්තයං යං**
**පුඤ්ඤාභිසන්ධං විපුලං අලද්ධං**
**තස්සානු භාවෙන හතන්තරායො**

**ඉමිනා පුඤ්ඤ කම්මේන**
**උපජ්ඣා ගුණුත්තරා**
**ආචරි යූප කාරාච**
**මාතා පිතා පියා මමං**

**සුරියො චන්දිමා රාජා**
**ගුණ වන්තා නරාපිච**
**බ්‍රහ්මා මාරා ච ඉන්දා ච**
**ලොක පාලා ච දේවතා**

යමො මිත්තා මනුස්සාච
මජ්ජත්තා වෙරිකාපිච
සබ්බේ සත්තා සුඛී හොන්තු
පුඤ්ඤානි පකතානිමෙ

සුඛංච තිවිධං දෙන්තු
ඛිප්පං පාපෙථ වො මතං
ඉමිනා පුඤ්ඤ කම්මෙන
ඉමිනා උද්දිසේනච

ඛිප්පාහං සුලභෙ චෙව
තණ්හුපාදාන ඡේදනං
යෙ සන්තානේ හීනා ධම්මා
යාව නිබ්බානතො මමං

නස්සන්තු සබ්බදා යේව
යත්ථ ජාතො භවෙ භවෙ
උජු චිත්තො සති පඤ්ඤො
සල්ලෙඛො විරිය වාමිනා

මාරා ලභන්තු නොකාසං
ඛාතුංච විරියෙසුමෙ
බුද්ධා දී පවරො නාථො
ධම්මො නාථො වරුත්තමො

නාථො පච්චෙක සම්බුද්ධො
සංඝො නාථොත්තරො මමං
තෙ සොත්තමානු භාවෙන
මාරො කාසං ලභන්තු මා

ආකාසට්ඨා ච භුම්මට්ඨා
දෙවා නාගා මහිද්ධිකා
පුඤ්ඤං තං අනුමෝදිත්වා
චිරං රක්ඛන්තු ලොකසාසනං

ආකාසට්ඨා ච භුම්මට්ඨා
දෙවා නාගා මහිද්ධිකා
පුඤ්ඤං තං අනුමෝදිත්වා
චිරං රක්ඛන්තු දේසනං

ආකාසට්ඨා ච භුම්මට්ඨා
දෙවා නාගා මහිද්ධිකා
පුඤ්ඤං තං අනුමෝදිත්වා
චිරං රක්ඛන්තු මං පරං

දේවො වස්සතු කාලෙන
සස්ස සම්පත්ති හේතු ච
පීතො භවතු ලොකො ච
රාජා භවතු ධම්මිකො

කායෙන වාචා චිත්තෙන - පමාදෙන මයා කතං
අච්චයං ඛම මෙ භන්තෙ - භූරිපඤ්ඤ තථාගත

# තෙරුවන් නැමදීම

නමෝ තස්ස භගවතෝ අරහතෝ සම්මා  සම්බුද්ධස්ස

ඉති'පි සො භගවා අරහං සම්මා සම්බුද්ධො විජ්ජාචරණ
සම්පන්නො සුගතො ලොකවිදූ අනුත්තරො
පුරිසදම්මසාරථී සත්ථා දේවමනුස්සානං බුද්ධො
භගවා'ති

බුද්ධං ජීවිතං යාව නිබ්බානං සරණං ගච්ඡාමි
යේ ච බුද්ධා අතීතා ච
යේ ච බුද්ධා අනාගතා
පච්චුප්පන්නා ච යේ බුද්ධා
අහං වන්දාමි සබ්බදා

නත්ථි මේ සරණං අඤ්ඤං
බුද්ධෝ මේ සරණං වරං
ඒතේන සච්චවජ්ජේනෙ
හෝතු තෙ[1] ජයමංගලං

උත්තමංගේන වන්දේහං
පාදපංසුවරුත්තමං
බුද්ධෝ යෝ ඛලිතෝ දෝසෝ
බුද්ධෝ ඛමතු තං මමං

ස්වාක්ඛාතො භගවතා ධම්මො සන්දිට්ඨිකො අකාලිකො
එහිපස්සිකො ඔපනයිකො  පච්චත්තං වෙදිතබ්බො
විඤ්ඤූහී'ති

---

[1] තමන් සඳහා කියන විට 'මෙ' ලෙස යොදන්න

ධම්මං ජීවිතං යාව නිබ්බානං සරණං ගච්ඡාමි
යේ ච ධම්මා අතීතා ච
යේ ච ධම්මා අනාගතා
පච්චුප්පන්නා ච යේ ධම්මා
අහං වන්දාමි සබ්බදා

නත්ථි මේ සරණං අඤ්ඤං
ධම්මෝ මේ සරණං වරං
ඒතේන සච්චවජ්ජේනෙ
හෝතු තෙ ජයමංගලං

උත්තමංගේන වන්දේහං
ධම්මං ච තිවිධං වරං
ධම්මේ යෝ ඛලිතෝ දෝසෝ
ධම්මෝ ඛමතු තං මමං

සුපටිපන්නො භගවතො සාවකසංඝො
උජුපටිපන්නො භගවතො සාවකසංඝො
ඤායපටිපන්නො භගවතො සාවකසංඝො
සාමීචිපටිපන්නො භගවතො සාවකසංඝො
යදිදං චත්තාරි පුරිසයුගානි අට්ඨ පුරිස පුග්ගලා එස
භගවතො සාවකසංඝො ආහුනෙය්‍යො පාහුනෙය්‍යො
දක්ඛිණෙය්‍යො අඤ්ජලීකරණීයො අනුත්තරං
පුඤ්ඤක්ඛෙත්තං ලොකස්සා’ති

සංඝං ජීවිතං යාව නිබ්බානං සරණං ගච්ඡාමි
යේ ච සංඝා අතීතා ච
යේ ච සංඝා අනාගතා
පච්චුප්පන්නා ච යේ සංඝා

අහං වන්දාමි සබ්බදා

නත්ථි මේ සරණං අඤ්ඤං
සංඝෝ මේ සරණං වරං
ඒතේන සච්චවජ්ජේනෙ
හෝතු තෙ ජය මංගලං

උත්තමංගේන වන්දේහං
සංඝ ච තිවිධෝත්තමං
සංඝෝ යෝ ඛලිතෝ දෝසෝ
සංඝෝ ඛමතු තං මමං

දුක්ඛේ ඤාණං බුද්ධ ඤාණං
දුක්ඛ සමුදයේ ඤාණං බුද්ධ ඤාණං
දුක්ඛ නිරෝධෙ ඤාණං බුද්ධ ඤාණං
දුක්ඛ නිරෝධගාමිනි පටිපදාය ඤාණං බුද්ධ ඤාණං
අත්ථපටිසම්භිදේ ඤාණං බුද්ධ ඤාණං
ධම්මපටිසම්භිදේ ඤාණං බුද්ධ ඤාණං
නිරුත්තිපටිසම්භිදේ ඤාණං බුද්ධ ඤාණං
පටිභානපටිසම්භිදේ ඤාණං බුද්ධ ඤාණං
ඉන්ද්‍රියපරෝ පරියත්තේ ඤාණං බුද්ධ ඤාණං
ආසයානුසයේ ඤාණං බුද්ධ ඤාණං
යමක පාටිහාරියේ ඤාණං බුද්ධ ඤාණං
මහාකරුණා සමාපත්තියා ඤාණං බුද්ධ ඤාණං
සබ්බඤ්ඤුත ඤාණං බුද්ධ ඤාණං
අනාවරණ ඤාණං බුද්ධ ඤාණං
ඉමේහි බුද්ධ ඤාණෙහි සමන්නාගතං
සම්මා සම්බුද්ධං තං සිරසා නමාමි

සෝ භගවා ඉතිපි අරහං
අරහං වත සෝ භගවා
අරහං තං සරණං ගච්ඡාමි
අරහං තං සිරසා නමාමි

සෝ භගවා ඉතිපි සම්මාසම්බුද්ධෝ
සම්මාසම්බුද්ධෝ වත සෝ භගවා
සම්මාසම්බුද්ධං තං සරණං ගච්ඡාමි
සම්මාසම්බුද්ධං තං සිරසා නමාමි

සෝ භගවා ඉතිපි විජ්ජාචරණ සම්පන්නෝ
විජ්ජාචරණ සම්පන්නෝ වත සෝ භගවා
විජ්ජා චරණ සම්පන්නං තං සරණං ගච්ඡාමි
විජ්ජාචරණ සම්පන්නං තං සිරසා නමාමි

සෝ භගවා ඉතිපි සුගතෝ
සුගතෝ වත සෝ භගවා
සුගතං තං සරණං ගච්ඡාමි
සුගතං තං සිරසා නමාමි

සෝ භගවා ඉතිපි ලෝකවිදූ
ලෝකවිදූ වත සෝ භගවා
ලෝකවිදුං තං සරණං ගච්ඡාමි
ලෝකවිදුං තං සිරසා නමාමි

සෝ භගවා ඉතිපි අනුත්තර පුරිසදම්මසාරථී
අනුත්තර පුරිසදම්මසාරථී වත සෝ භගවා
අනුත්තර පුරිසදම්මසාරථිං තං සරණං ගච්ඡාමි
අනුත්තර පුරිසදම්මසාරථිං තං සිරසා නමාමි

සෝ භගවා ඉතිපි සත්ථා දේවමනුස්සානං
සත්ථා දේවමනුස්සානං වත සෝ භගවා
සත්ථා දේවමනුස්සානං තං සරණං ගච්ඡාමි
සත්ථා දේවමනුස්සානං තං සිරසා නමාමි

සෝ භගවා ඉතිපි බුද්ධෝ
බුද්ධෝ වත සෝ භගවා
බුද්ධං තං සරණං ගච්ඡාමි
බුද්ධං තං සිරසා නමාමි

සෝ භගවා ඉතිපි භගවා
භගවා වත සෝ භගවා
භගවං තං සරණං ගච්ඡාමි
භගවං තං සිරසා නමාමි

මාගේ ස්වාමි වූ බුදුරජාණන් වහන්සේ කෙලෙසුන් කෙරෙන් දුරු වූ සේක. කෙලෙස් සතුරන් නැති කළ සේක. සියළු පාපයන්ගෙන් මිදුන සේක. රහසින් වත් පව් නොකළ සේක. සියළු ලෝ වැසියන්ගේ ආමිස පූජා ප්‍රතිපත්ති සියල්ලට ම සුදුසු වන සේක.

බුදුරජාණන් වහන්සේගේ දාන පාරමිතාව මහා ආශ්චර්‍යයීය. පාරමී පුරන සමයේ අඹුදරුවන් දන්දුන් සේක. මහාරාජ්‍ය දන්දුන් සේක. ඇස් උපුටා දන්දුන් සේක.

බුදුරජාණන් වහන්සේගේ කරුණා ගුණය මහා ආශ්චර්‍යයීය. කෝටියක් මව්වරුන්ගේ කෝටියක් පියවරුන්ගේ කරුණා ගුණය එක පිඬක් කළ ද බුදුරජාණන් වහන්සේගේ කරුණා ගුණයට උපමා කළ නොහැක.

මෙසේ අනන්ත වූ අප්‍රමාණ ගුණ ඇත්තා වූ බුදුරජාණන් වහන්සේ මහා භාග්‍ය ඇති සේක.

බුදුරජාණන් වහන්සේ සැරියුත් තෙරුන් වැනි වූ වැඩිමහල් පුතණු කෙනෙකුන් ලද සේක.

බුදුරජාණන් වහන්සේ මුගලන් තෙරුන් වැනි වූ ඍද්ධි බල ඇත්තා වූ පුතණු කෙනෙකුන් ලද සේක.

බුදුරජාණන් වහන්සේ මහා කාශ්‍යප තෙරුන් වැනි වූ ධූතාංග ධාරීවූ පුතණු කෙනෙකුන් ලද සේක.

බුදුරජාණන් වහන්සේ උපාලි තෙරුන් වැනිවූ විනය ද දන්නා වූ පුතණු කෙනෙකුන් ලද සේක.

බුදුරජාණන් වහන්සේ රාහුල තෙරුන් වැනි වූ සුවච කීකරු වූ පුතණු කෙනෙකුන් ලද සේක.

බුදුරජාණන් වහන්සේ කුමාර කස්සප තෙරුන් වැනි වූ මිහිරි හඬින් දම් දෙසනා පුතණු කෙනෙකුන් ලද සේක.

බුදුරජාණන් වහන්සේ අනද තෙරුන් වැනි වූ උපස්ථායක වූ පුතණු කෙනෙකුන් ලද සේක.

බුදුරජාණන් වහන්සේ අනේපිඬු සිටු වැනි වූ මහ උවසුවන් ලද සේක.

බුදුරජාණන් වහන්සේ විශාඛා වැනි වූ මහ උවැසියන් ලද සේක.

බුදුරජාණන් වහන්සේ සක් දෙව් රජු වැනි වූ ගෝල බාලයින් ලද සේක.

බුදුරජාණන් වහන්සේ බුද්ධත්වය වැනි වූ සම්මාන තනතුරු ලද සේක.

මෙසේ අනන්තවූ අප්‍රමාණ ගුණ ඇත්තා වූ අසම වූ අසමසම වූ දෙවියන්ට දෙව් වූ මට ම ස්වාමි වූ මගේම බුදු මෑණියන් වූ මගේම බුදු පියාණන් වූ මොහඳුරට ළහිරුමඬලක් වූ කෙළෙස් ගින්නට මහා මේඝයක්

වූ ගමනින් ශාන්ත වූ පැවැත්මෙන් සංවර වූ අනාථ නාථ වූ අසරණ සරණ වූ අග්‍ර දක්ෂිණෙයය වූ බුදුරජාණන් වහන්සේට
මේ පහන් පූජා කරමි, පූජා වේවා.
මේ සුවඳ දුම් පූජා කරමි, පූජා වේවා.
මේ සිසිල් පැන් පූජා කරමි, පූජා වේවා.
මේ ගිලන්පස පූජා කරමි, පූජා වේවා.
මේ දැහැත් පූජා කරමි, පූජා වේවා.
මේ සියලු පූජාවෝ නිර්වාණ ශාන්තිය පතා සංසාර දුකින් අත්මිදීම පතා බුදුරජාණන් වහන්සේට පූජා කරමි පූජා වෙත්වා. පූජා වෙත්වා. පූජා වෙත්වා.

අනන්ත සසර පටන් මේ මොහොත දක්වා මාගේ සිත කය වචන යන තිදොරින් සිදු වුණා වූ සියලු දෝෂයනට බුද්ධ රත්නයෙන් ද ධම්ම රත්නයෙන් ද සංඝරත්නයෙන් ද මට සමාව ලැබේවා. දෙවනුව ද සමාව ලැබේවා. තෙවනුව ද සමාව ලැබේවා.
මා විසින් රැස් කළාවූ සීලමය, වන්දනාමය, බුද්ධ පූජාමය, බෝධි වන්දනාමය, සූවිසි ගුණ මනසිකාරමය, සියළු පුණ්‍ය ධර්මයෝ මාගේ දෙමාපියන්ට ද, මාගේ ගුරුවරන්ට ද, මාගේ වැඩිහිටියන්ට ද සියලුදෙනාට ද අයිති වෙත්වා.
මම ද සියල්ලන්ගේ ම සියළු පුණ්‍ය ධර්මයන් සාදර ගෞරවයෙන් ආදර භක්තියෙන් අනුමෝදන් වෙමි. මට ද මේ සියළු පින් බලයෙන් ජරා මරණා සංසාර දුකින් අත් මිදී නිර්වාණ සුවයම අවබෝධ වේවා නිවන් දකිම්වා.

# බෝධි පූජා කවි

රන්වන් පාටින් දලුලන බෝධිය
නිල්වන් පාටින් කොළලන බෝධිය
ගෞතම මුනිඳුන් පිටදුන් බෝධිය
අපිත් වඳිමු ජය සිරිමහ බෝධිය

දඹදිව් තලයේ හටගත් බෝධිය
සිරිලංකාවට වැඩමෙව් බෝධිය
ගෞතම මුනිඳුන් පිටදුන් බෝධිය
අපිත් වඳිමු ජය සිරිමහ බෝධිය

දඹදිව් තලයේ හටගත් බෝධිය
සඟමිත් තෙරණිය ගෙන වැඩි බෝධිය
ගෞතම මුනිඳුන් පිටදුන් බෝධිය
අපිත් වඳිමු ජය සිරිමහ බෝධිය

දඹදිව් තලයේ හටගත් බෝධිය
මහමෙවුනාවේ රෝපිත බෝධිය
ගෞතම මුනිඳුන් පිටදුන් බෝධිය
අපිත් වඳිමු ජය සිරිමහ බෝධිය

දෙව් ලොව දෙවියන් පුද කළ බෝධිය
නාලොව සතියක් පුද ලද බෝධිය
දෙනෝ දහක් දෙන වඳිනා බෝධිය
අපිත් වඳිමු ජය සිරිමහ බෝධිය

අනුරපුරේ සිට ගෙන ආ බෝධිය
මේ අරමේ වැඩ හිඳිනා බෝධිය
දෙනෝ දහක් දෙන වඳිනා බෝධිය
අපිත් වඳිමු ජය සිරිමා බෝධිය

අනුරපුරේ වැඩ හිඳිනා බෝධිය
රන්වැට අතරින් පෙනෙනා බෝධිය
දෙනෝ දහක් දෙන වඳිනා බෝධිය
අපිත් වඳිමු ජය සිරිමා බෝධිය

මම මේ මළුවට එනවා යනවා
බෝමුල් බෝපත් මට පෑගෙනවා
සමාව දී මගෙ පව් අරවනවා
බෝ රජුනේ මට අවසර දෙනවා

උඩමළුවේ බෝ රජු වැජඹෙනවා
දෙවැනි මළුවේ මල්පහන් දිළෙනවා
වැලි මළුවේ මහ සෙනඟ වඳිනවා
මතු මත්තේ අපි නිවන් දකිනවා

සුදු බුදු රැස් දහරින් ලොව නාවා
බුදු හාමුරුවෝ හොඳ බණ කීවා
පුදමි පහන් මම සිරිපද ගාවා
බිඳ බව දුක සැනසුම හිමි වේවා

මේ මල් පරවෙන බව සිහි වේවා
මේ මල් මෙන් කය ගැන වැටහේවා
මේ මල් මුනිඳුට පූජා වේවා
මේ මල් සේ නිවනට යොමු වේවා

ගුණ දම් රස අපමණ බව දනිම්
නිබඳ අමාගුණ සයුරේ ගිලෙම්
මහඳ සිසිල් ගඳ කිළියක් කරම්
සුවඳ දුමින් මගෙ බුදු හිමි පුදම්

බුදුගුණ අරහං නව ගුණ වේවා
අරහං නවගුණ හද තුළ වේවා
මරණෙදි මට කිසි බියක් නො වේවා
මරණෙ දි මට බුදු ගුණ සිහි වේවා

පුන්සඳ මෙන් කඳු මුදුනෙන් දිස්වෙන
රන්වන් සිවුරක් පොරවා රැස්දෙන
තුන් ලොවටම මෙත් කරුණා වස්සන
අන්න බලන් බුදුසමිඳුගේ ලස්සන

සම්මා සම්බුදු සමිඳුගේ මුහුණෝ
ලස්සන රුව කිසි මලෙකත් නෑනේ
අපි පුද දෙන මල් මිටි මිටි ගානේ
සමිඳුගෙ ඉදිරියෙ පරවෙනවා නේ

නෙත සැනසිල්ල බුදුහිමිරුව දැකීමය
ගත සැනසිල්ල බුදුහිමිහට වැඳීමය
සිත සැනසිල්ල බුදුහිමිගුණ සිතීමය
භව සැනසිල්ල හිමිගත් මග ගැනීමය

කරදරමයි ජීවිතයක හැමදාම
මරණයටයි ටික ටිකවත් ලංවීම
පින පමණයි තරමකවත් සෑහීම
නිවන තමයි අප කාටත් සැනසීම

නමස්කාර වේවා බුදු රුවනට
සැමදා මම බුදු සරණ යමි
නමස්කාර වේවා දම් රුවනට
සැමදා මම දම් සරණ යමි
නමස්කාර වේවා සඟ රුවනට
සැමදා මම සඟ සරණ යමි
නමස්කාර වේවා දෙවනුත්
තෙවනුත් සැමදා තිසරණ සරණ යමි

යමෙක් ලොවේ සුවපත් වූවෝ නම්
ඒ හැම බුදු හිමි සරණ ගියෝ
යමෙක් ලොවේ සුවපත් වූවෝ නම්
ඒ හැම සදහම් සරණ ගියෝ
යමෙක් ලොවේ සුවපත් වූවෝ නම්
ඒ හැම මහසඟ සරණ ගියෝ
යමෙක් ලොවේ සුවපත් වූවෝ නම්
ඒ හැම තිසරණ සරණ ගියෝ

සව්සත බුදුහිමි සරණ ගොසින්
හැම දුකින් මිදී සුවපත් වේවා
සව්සත සදහම් සරණ ගොසින්
හැම දුකින් මිදී සුවපත් වේවා
සව්සත මහසඟ සරණ ගොසින්
හැම දුකින් මිදී සුවපත් වේවා
සව්සත තිසරණ සරණ ගොසින්
හැම දුකින් මිදී සුවපත් වේවා

# මෛත්‍රී භාවනා කවි

මුණිඳු සරණ එක පිහිටම වේවා
උතුම් නිවන අවබෝධය වේවා
සුවච සුමුදු ඉදුගුණ ඇති වේවා
සියලු සතුන් ලොව සුවපත් වේවා

මානෙන් තොර තුටු සිත් ඇති වේවා
අනුනට කරදරයක් නො කෙරේවා
සැහැල්ලු ජීවිතයක් ඇති වේවා
සියලු සතුන් ලොව සුවපත් වේවා

සන්සුන් ඉඳුරන් නිති ඇති වේවා
සිහි නුවණින් කටයුතු ද කෙරේවා
කුලමානෙන් දූසිත නොම වේවා
සියලු සතුන් ලොව සුවපත් වේවා

නැණැති දනන් වැණු ගුණඇති වේවා
පාපකෙලෙස් සිත් පහළ නො වේවා
සිතකය වචනය පිරිසිදු වේවා
සියලු සතුන් ලොව සුවපත් වේවා

බියපත් තැතිගත් සතුන් ද වේවා
දිගුමහ සිරුරැති නේසත් වේවා
කෙලෙසුන් සුන්කළ රහතුන් වේවා
සියලු සතුන් ලොව සුවපත් වේවා

කිසිවෙකුහට වංචා නොකරේවා
කිසිවෙකුහට අවමන් නොකරේවා
කිසිවෙකු හට රිදුමක් නොකරේවා
සියලු සතුන් ලොව සුවපත් වේවා

එකම පුතුන් දිවි නොතකා බෝවා
ඇල්මෙන් රකිනා මවසේ වේවා
මෙත් සිත සිල්බලයෙන් සුරැකේවා
සියලු සතුන් ලොව සුවපත් වේවා

සක්මන් කරමින සිටගෙන වේවා
නොනිදා සැතපෙන හිඳගෙන වේවා
කොයි ඉරියව්වෙත් මෙත් පැතිරේවා
සියලු සතුන් ලොව සුවපත් වේවා

ලෞකික ආසාවෙන් දුරු වෙම්වා
ලොව්තුරු මග පල සැපත ලබම්වා
සසරෙහි උපදින දුකෙන් මිදෙම්වා
කෙළෙසුන් සුන්කර නිවන් දකිම්වා



# පිළිකුල් භාවනා කවි

තිබෙනා තුරු කරජ කාය
සසරෙහි දුක නොවළ කාය
එය නුවණින් පස් වි කාය
සමතා ගැලවෙන එ කාය

කලු කෙස් සුදු පැහැ කළේය
ලොම් ටික කලකදි හැළේය
ලස්සන නිය ඔප හළේය
කය පෙන බුබුළක් වගේය

දත් මුතු ඇට මෙන් සිතේය
එනමුදු කලකදි වැටේය
මුව විහිළුවකට නැගේය
පට මල්ලක කට වගේය

නිදි යහනෙදි කට ඇරේය
දොකොනින් කුණු කෙළ පෙරේය
දුටු දන පිළිකුල් කෙරේය
වණයක ගඳ සිහි කෙරේය

දත් මුල මැලියම් බැඳේය
ගඳ දැනුනොත් හිස රදේය
මුව සේදිමත් වදේය
දත් ලෙඩ දුකටම බැඳේය

පැහැපත් සම රැලි ගැසේය
ඒ මත කොරපොතු ඉසේය
පිය කළ අය පසු බැසේය
කය පරවෙන මල ලෙසේය

මස් පිඬු වැහැරී හැලේය
ඇට නහරත් එම පිළේය
ඇට මිදුළුත් දුක් වළේය
මේ කය මරු මුව ගිලේය

වකුගඩු වල ලෙඩ හැදේය
විටකදි හදවත රිදේය
බොකු බඩවැල්වල වදේය
මේ කය සිර ගෙය වගේය

පෙනහලු වල දිය පිරේය
පොට වැරදුන හොත් මැරේය
ලෙඩ යහනේදි කල කිරේය
නව දොරකින් කුණු පෙරේය

අක්මා දළඹුව වගේය
සිතුවත් කුණු වී නැසේය
කන රස දේ ගඳ ගැසේය
දුටුවන් වමනය කෙරේය

හිසමත උකුණන් ගසාය
කුස තුළ පණුවන් වසාය
පිත සෙම කිපුනොත් කසාය
සැරව පිරුණ තැන අපාය

ලේ අඩු වැඩි කම ද වේය
මරුවා එහි කෙළවරේය
නිතරම දහඩිය පෙරේය
මේ කය සිහිනය වගේය

කඳුළු පිරුණු තෙල් ගළාය
නෙත්වල කබ ඉතිරි ලාය
සොටු ගුළි කහපැහැ වෙලාය
ලේ කැටි ගැසුනොත් මළාය

මළ මූ දෙක හිරි කිතේය
මේදය සැදුනොත් ගතේය
මහලු වියෙහි වක ගැසේය
මේ කය මිරිඟුව වගේය

මෝහෙන් උපතත් කාමය
ඇත්තේ තිර නැති දේමය
මේ කුණු කය සහ නාමය
සත්හට සතුරෙකු වේමය

මෝඩ අපට කය අගේය
මරණය දිව රෑ ලගේය
මළ දා පනු කැළ නැගේය
කය වැසිකිළි වළ වගේය

අනිසයි අහෝ අනිසයි සැම දෙයම ලොවේ
මිනිසයි ගසයි පොළවයි මහ මෙර ද දැවේ
මොහොතයි දෙකයි පැවැතුම ජීවිතය ලොවේ
දුකමයි අහෝ දුකමයි සංසාර භවේ

## සංසාර දුකේ හැටි

සසර සරණා සතට දුබල,
මහලු වයස පැමිණි කලට,
ගතද හැකිළි වතද මැලවී,
සෙලවෙතේ දතා

එවර දෙඇස නොපෙනි දෙකන,
බිහිරි ගතිය සමග දෙතොල,
සැලුම යුතුව කටිනි හඬද,
ලොලො  ගායතා

අදර ගුණැති හිතැති මිතුරො,
නෑයො සැවොම ඉවත බලති,
පණසෙ විසුව පෙමැති කත ද,
නුරුස්සා යතා

ගෙදර ලැබුව ජාත පුතු ද,
අපිය කරති දකින කලට,
බලව තිබෙන දුකෙක මහත,
මේ ජරා සතා

මොණර පිලසෙ නිල්වන්,
කෙස් වැටිය සුදුව කපුකුල්ලක්,
විලස තිබී ටිකෙන් ටිකම,
තට්ටෙ පෑදුණා

ඉඳුනිල්මිණි දෙකක් සදිසි,
දෙනෙත් සුදුව කබ ගලමින්,
ගිලුනු සෙයින් අඳුනන්නට, - නොහැක දුටු දනා

සරා සඳසෙ සපිරි මුහුණ,
රැලි වැටෙමින් හැකිල ගොසින්,
වෙස්මුහුණක් වගේ දකින
අයට යයි සිනා

කැකුළු කොදසෙ තිබුණු දසන්,
කෙතකට බැඳි වැට විලසින්,
තිබී පසුව වැටී ගොසින්,
ලොඹුව හැකුලුනා

මිහිරි හඬින් දන මන ගත්,
මුකුලු වදන් බැරිව කිසිත්,
කබල් බෙරය ගසන විලස,
කලක් කළෙ කතා

ලොඹු දෙකොනින් කෙළ පෙරමින්,
ලොල්ලොල් ගා කියන බසට,
නිවට මෝඩ කොල්ලො පෙළක්,
සිනා සෙති ඉතා

රහස් කියන විටත් ඇසුන,
දෙකන් බිහිරි වෙලා වගේ,
හෙණ ගැසුවත් පිටිපස්සට,
සද්දයක් නැතා

අනේ බලනු මැනවි සසර,
ජරා මරුව දෙන හිරිහැර,
මෙලොව සතට වේය මෙලෙස,
වඩනු මෙත් සිතා

රන්රුව ලෙස සුදිලෙන ගත,
කෙතකට බැඳි පඹයෙකු ලෙස,
දුබල වෙමින් තිබෙන කලට,
තවත් මිදි කියා

තොණ්ඩුව දමමින් බෙල්ලට,
පොල්ලෙන් බැට දී තුනට්ය,
කඩා දැමිය හැට වරුසෙදි,
ජරා මාරයා

ගත රුදිරය උරා බොමින්,
නහර බලය සූරා ගෙන,
ලිපට දමන දර මිටියක්,
ලෙසින් විය කයා

එබැවින් අද අඬමින්,
කබ ගලන් සිටින මා දකිමින්,
කුසල් කරනු දරුවනි නිති,
සිතනු අනිසයා

නිතර මෙකුණු කයට ලොබින,
මසුරු කමින් දවසරිමින,
පිනට මැලිව පවට කිසිත්,
බියක් නොම ගෙනා

සතිර ලෙසට මෙම රූපය,
සිතා නිතර වෙසෙන එ සැම,
පළගැටි හට වෙන දේ දැන,
හරිනු ලොබ සැනා

නිතර අනිස සිහි කරමින,
මුනිඳුන් දෙසු බණ දැන ගෙන,
එම විලසින පිළිපදිමින,
කුසල් කරමිනා

අජර අමර නිවන් සැපත,
ලැබ ගන්නට සිතා නිතර,
වීරිය වඩමින් සැම දෙන,
පතමු විගසිනා

දුටුව අයට මන පිනවන,
ලෙසට රූපෙ තිබුණත් අපෙ,
ජරා මරුව සිඳ බිඳලයි,
සැකක් නොම ගෙනා

තුටුව කයට සැප දීගෙන,
විසුවත් අප නෙක විලසින,
දිනකදි මෙය හැර දමමින,
යන්ට වෙයි සැනා

කටුව පමණවත් වැඩකට,
ගන්ට නොහැකි මෙකුණු කයට,
අපල වඩති මෝඩ වූ සැම,
නොදත් ගතියෙනා

තුටුව නිවන් සැප ලැබුමට,
කැටුව සැවොම එහි යෑමට,
රුවට තිබෙන ආලය හැර,
වඩනු භාවනා

නොතිරවූ කුණු කයක් අරගෙන,
තිස් දෙකක් කුණු එහි දමාගෙන,
විඳිති පස්කම් සැපත නොමදැන,
තිබෙන අනුවණ කම නිසා

විපුල වූ මහදුකක් විඳිමින්,
කරති පස් පව් නිතර ලොබයෙන,
උතුම් මුණිඳුන් දෙසූ සදහම්,
අසා තවමත් නැති නිසා

උරුම වූ ලෙස තිබෙන නිරයක්,
කරන පස් පව් සැම සතුන් හට,
යන්ට යන දා ඒය මරුවා,
බැරුව නොගොසින් කොයි ලෙසා

පතළ වූ මුණි දෙසූ සදහම්,
ඇත උතුම් නිවනය ලබන්නට,
කරවදන් පින් නොහැර වීරිය,
සියලු අකුසල් දුර ගසා

මෙලොව වසන සතට,
නියම අපල කාලෙ පැමිණි කලට,
උරුම තිබෙන වතු ද පිටි ද,
විකිණිලා යතී

එවිට දුකිනි ඉණට වැහිලි,
යුතුව අතට කබල රැගෙන,
කඳුළු පිරුණු නෙතිනි වැහැරී,
සිඟමනේ යති

පෙරදි බොහොම හිතැති මිතුරො,
නෑයො සැවොම දිවියන් ලෙස,
සතුරු වෙතිය එක ද මිතුරු,
අයෙක් නම් නැති

කියනු කුමට පෙමැති ලිය ද,
ජාත පුතු ද ඉවත බලති,
සිතනු අපල කාලෙ සැටිය,
මිතුර හිත ඇති

රුවට බැබළි ගත ද වියලි,
වත ද හැකිලි නහර ඉපිලි,
දිරිය නැතිව පඹයෙකු ලෙස,
වැනි වැනී යතී

පිත ද සෙම ද කිපී නොමඳ,
ගෙඩි ද හොරි ද වණ පිළියල්,
මෙඅෑ නොයෙක් සැදෙන රෝග,
වලින් නිම නැති

එකල මහලු විය ද පැමිණි,
නිබඳ ළපිරු සොවිනි කටුක,
දුක් විඳ මහ මග දිනයක,
අහෝ මිය යති

එබව සිතට රැගෙන මෙබඳු,
දුකක් නොවන විලස තරුණ,
කාලෙදි හැකි පමණින් පින්,
කළොත් යහපති

# ලෝවැඩ සඟරාවෙන්

කලකිනි බුදු කෙනෙකුන් උපදින්නේ
දුකකිනි මිනිසත් බව ලැබ ගන්නේ
මෙදෙකිනි මෙ සසර දුක් දුරලන්නේ
සුදනෙනි කිම වීරිය නොකරන්නේ

කන්නන් මෙන් විස අඹ පල රිස්සේ
මන් සන් තොස් කර කිම පල සෙස්සේ
දැන් දැන් එයි මරුවා පසු පස්සේ
ඉන් පින් මය කටයුතු නම් දස්සේ

ඉස ගිනි ගත්තෙකු එ ගිනි නිවන ලෙස
කුසලට මඳකුත් පමා නුවොත් මිස
මෙ සසර අත්හැර නො යන මෙ දුක් රැස
වෙස සින් නැත අත් හරිනා උප දෙස

කොතන උනත් නැත මරුහට බාදා
විඳින මෙ සැප පින් ඇති තෙක් වේදා
ගෙවන සසර දුක් බුදුබණ නාදා
කුමන නැටුම් කෙළි කවට සිනාදා

අද අද එයි මරු පින් කර ගන්නේ
කෙලෙස ද සෙට මරු නේති සිතන්නේ
කිකලද මහසෙන් මරු ඇප වන්නේ
කුමටද කුසලට කම්මැලි වන්නේ

කුමට ද කා බී නිති සැර සෙන්නේ
කොතන ද මේ කය ඇරගෙන යන්නේ
ඇම සඳ නො මැලිව පින් කර ගන්නේ
එමවද බව සයුරෙන් ගොඩ ලන්නේ

හැමවිට පිනට ම සිත පා දන්නේ
නිවණට මග එම වද සා දන්නේ
වැඩකට කී බස් කිම නා දන්නේ
නිර යට වන් කල දෝ තොප දන්නේ

මස් ලේ නැති ඇට බලු ලෙව කන්නේ
කුස් පිරුමක් පලයක් නො ලබන්නේ
ලෙස ඒ සැපතෙහි ලොබ නො කරන්නේ
දොස් නො පෙනෙන ලෙස දුක්මයි වන්නේ

කරන කලට පව් මීරිය මීසේ
විඳින කලට දුක් දැඩි වෙයි ගිනිසේ
ඇඳින එ පව් දුර ලන උපදේසේ
නුදුන මැනවි තුන් දොර අවකාසේ

අදමින් ජීවත් වෙනවා විතරට
දැහැමින් මිය යනු සොඳමයි දනහට
මෙලෙසින් වදහළ මුනිබණ සිහි කොට
සැබැවින් පින්කොට පැමිණෙව් නිවනට

ලිපගිනි මොලවන තෙක් දිව සැළියේ
සැපයක් යයි කකුළුව දිය කෙළියේ
එපමණ තොප සිතතොත් නො හැකිළියේ
සැපයක් නම් නැත කම් රස කෙළියේ

බණ නම් නිබොරුය මුනිවර යන්නේ
කය නම් නොතිරය අදහා ගන්නේ
පණ නම් තණ අග පිණි බිඳු වැන්නේ
පින නම් නො පමාව ම කර ගන්නේ

පින් පව් නො දැන ම අනුවණ කම් කොට
කන්නන් මස් රස සොඳමයි කර තුට
ඉන් ගැළවෙනු බැරි නොගොසින් නිරයට
දැන් එම ආලය හරිනේ අද සිට

කාලා රසමුසු බෝජන කරපෙම්
ගාලා සුවදැති සඳුනුත් මනරම්
ලාලා අබරණ නිසි ලෙස සැරසුම්
පාලා ගිය වැනි බහුරූ කෝලම්

සාරනු කුණුකයක් ඇරගෙන කරන බහු නාටක තදේ
නෑර තම හිමි සමග දවසැර උන් නුමුත් සැප විඳ විදේ
ගෝර මරුවා පැමිණි කල් දැන යන්ට කැඳවා එන සඳේ
බාරව ම සිටුවන්ට බැරි වද පිනක් කර ගත්තොත් සොඳේ

සරණ මුනිඳුගෙ අදහ පිනකුත් නොකර ඉන්නේ
කුමටදෝ
මරණ පැමිණෙන කලට යමයා ඇවිත් කැඳවා
යන්ටදෝ
කරන සොඳකම් දන්පිනක් කළ කියනු නුවණින්
සොඳ වෙදෝ
කුමන අනුවණ කම් ද නෑයිනි අඬනු සිටුවා
ගන්ට දෝ

අඬලා කම්පාව උන්නත් ඉතින් දැක්මක් නො  වන්නේ
තනාලා සිත පිනක් නොකරම කිම් ද උපයා තබන්නේ
දමාලා යන නරක කුණුකය කුමට දෝ සැප  විඳින්නේ
දිනාලා සුරපුරට යන්නට මකී මේ බණ        අසන්නේ

දන් පින් බැරි දේකැයි නො සිතන්නේ
අන් කළ පින් අනුමෝදන් වන්නේ
අන් ලද පින් සරි පින් ලැබ ගන්නේ
ඉන් වද සගමොක් සැප සාදන්නේ

සයට වේ ද රසමුසු බත් කන්නේ
ගඳට වේද ඇඟ සුවඳ කරන්නේ
ලෙඩට බේති මේ මෙලොව සතුන්නේ
කුමට මීට සැපයකැයි සිතන්නේ

මානෙන් ඉඳිතත් මේ සැප පෙරුමය
සීනෙන් ගෑ සුවඳක් මෙන් බොරුමය
දානෙන් සීලෙන් නො කළොත් දරුමය
පානෙන් අඳුරට ගෙන යයි කරුමය

වැණුවා නම් බුදුගුණ වැණුවාමය
තැනුවා නම් තම සිත තැනුවාමය
දෙනුවා නම් දන්පින් දෙනුවාමය
දිනුවා නම් පරලොව දිනුවාමය

පින මිස නෑයන් වන පිහිටක් නැත
උන් දෙන මතු හිම්වන දෙයකුත් නැත
ඉන් මතු අදහා සිහි කරතොත් සත
අන් කුසලක් නොකළත් මෙම දෙයි සෙත

## ජීවිතයේ යථා ස්වභාවය

ලොව සියළුම සතුන්
අවට ඇති සැම දේවල්
ඇති වී නැතිව යයි
එයින් නිදහස් වීම සැපතය

වැඩිකල් නොගොස් මේ
සිරුර පොළවෙහි හෝනේ
එවිට වැඩකට නැති
දිරුණු දර කොටයකට සම වේ

ඇට කටු ගොඩ ගසා
මස් ලේ වලින් අලවා
ජරා මරණය හා
මානයත් ඒ තුලට ගිල්වා
සෑදුවක් වැනිමය
අපේ මේ දුක් ජීවිත

රූපය පෙණ පිඬකි
වේදනා දිය බුබුල සමවේ
හැඟුම් මිරිඟුව මෙනි
කෙසෙල් මෙන් හැම හරය නැත්තේ

මායාවකි සිත
බුදු හිමි වදාළේ එය
නුවණින් බලන විට
සිරුර අපගේ නිසරුය

යුද්ධයක් ඔහු හා
ඇත අප සෑම දෙනෙකුට
ජය ඔහුට හිමිමය
පරාජය අප හටම නියතය

වැඩිහිටි ළඳ බොළඳ
උගත් නූගත් කවුරුත්
මරණයට යටවෙත්
එයම උරුමය ලෙසින් පවතිත්

උපත හා සමගම
මරණය පැමිණ ඇත්තෙය
වධකයෙක් මෙන් එය
මරන්නට ඉඩ සොයන්නේමය

මට දූ පුතුන් ඇත
මට මිළ මුදල් බෝ ඇත
අනුවණ අය මෙසේ
අධික වෙහෙසට පත් වෙති

මරණය පැමිණි විට
තමනුත් තමාටම නැත
එසේ නම් අනිකකු
පිහිට වන්නේ කෙලෙස ද

හැඬුමෙන් ශෝකයෙන්
සිතේ සැනසුම නොම වේ
සිරුර ද පෙලීමෙන්
තවත් දුක වැඩි වේමය

මරණය නියතමය
මරණයට සැම පත් වේ
පින් පව් පල අනුව
පරලොව උපත වේමය

මැරෙන විට අපහට
දූ පුතුන් නැත පිහිටට
කළ හොඳ නොහොඳ දෙක
අපේ ජීවිත සමග වේමය

මල් රැසකින් මනා
මාලා සදන අයුරින්
උපන් අප හැම දෙන
බොහෝ පින් කළ යුතුමය

සැබෑ දේ කීමත්
කිසි දේට නොකිපීමත්
සුලුව හෝ දීමත්
දේවත්වයට කරුණුය

පව්කම් කරන්නා
මෙලොව පරලොව දුක් වෙයි
පින්කම් කරන්නා
මෙලොව හා පරලොව ද සැනසෙයි

ජය නිසා වෛරය
පරාජය දුක් සහිතය
දිනුම පැරදුම හැර
සන්සිඳී සැප ලබන්නේම ය

සියලු දේ ලොව තුල
ස්ථිර නැතැයි දැකුමෙන්
දුක ගැන කලකිරෙයි
නිවන් මග වන්නේ ද එයමය

සියලු පව් දුරු කොට
සියලු පින් කම් සිදු කොට
පිරිසිදු සිත් වන්න එයයි
සම්බුදු සමිඳු උපදෙස





# පූජ්‍ය වේරගොඩ සාරද නායක මහා ස්වාමීන්ද්‍රයන් වහන්සේ

1. **Treasury of Truth - Illustrated Dhammapada**
   (English, Chinese, Sinhala)

2. **Life of the Buddha - In Pictures**
   (English, Chinese, Sinhala, Japanese, Korean, Kampuchean)

3. **Life of the Buddha (For Children)**
   (English, Chinese, Sinhala, Japanese)

4. **Life of the Buddha in Gandhara Arts**
   (English, Sinhala)

5. **Parents & Children - Key to Happiness**
   (English, Sinhala)

6. **Morals of the Young**
   (English, Chinese, Sinhala)

7. **The Only Path to Nibbana Maha Satipatthana Sutta**
   (English, Sinhala)

8. **Nature of Life and Death**
   (English, Sinhala)

9. **Maha Mangala Sutta the Highest Blessing**

10. **Moral Stories - Read Them - Colour Them**
    (English, Chinese, Sinhala)

11. **Venerable Ananda - Buddha's Constant Companion**

12. **The Great Book of Protective Blessings**

13. **The Greatest Man Who Ever Lived**
    (English, Sinhala)

14. **Vandana**

15. **Buddhist Devotions**

16. **Blessings to Conquer Sickness**

17. **Buddhist Way of Meditation**

18. **First Sermon of tl1e Buddha**
    **Dhammacakkappavattana Sutta**

19. **Reflection on Death**

20. **The Buddha Word**

21. **Doctrinal & Cultural Aspects of Buddhist**

22. Beliefs and Practices Among Chinese & Sri Lankan Buddhists (Compilation)

23. Meditation on Loving-Kindness (Karaniya Metta Sutta)

24. Guide to Buddhist Pali Chanting

25. Realities of Life

26. Quotations from Buddhist Literature

27. Buddhist Pali Chanting

28. The Miracle of Mind

29. Teach Yourself Pali in English

30. Kalama Sutta

31. ළමයින් සඳහා බුදු සිරිත සිතුවමින්

32. ජීවිතයේ සහ මරණයේ යථා ස්වභාවය

33. මිහිතලයේ පහළ වූ ශ්‍රේෂ්ඨතම මිනිසා - බුදු හාමුදුරුවෝ

34. දෙමාපියන් සහ දරුවෝ - වාසනාවේ දොරටුව

35. වන්දනා ගාථා

36. පිරුවානා පොත් වහන්සේ

37. බුද්ධ චරිතය ගන්ධාර කලාව ඇසුරෙන්

38. බුදු දහම සහ බුදුරජාණන් වහන්සේ

39. මහා සතිපට්ඨාන සූත්‍රය - නිවනට එකම මඟ

40. සුසිරි කතා - කියවන්න - පාට කරන්න

41. ළමුන් සඳහා හොඳ සිරිත්

42. බෞද්ධ භාවනා මාර්ගය

43. ධර්ම භාණ්ඩාගාරය - සිතුවම් සහිත ධම්මපදය

පූජ්‍ය වේරගොඩ සාරද නාහිමියන් විසින් සම්පාදනය කරන ලද පොත් පත් කියවීමට සහ පාලි සජ්ඣායනා ශ්‍රවණයට පහත සබැඳියාවන්ට ප්‍රවේශ වන්න.

**https://archive.org/**
**details/@ven_weragoda_sarada** or the QR Code.



**පූජ්‍ය වේරගොඩ සාරද නාහිමියන් ගේ පාලි සජ්ඣායනා ශ්‍රවණයට යූටුබ් (youtube) නාලිකාවට ප්‍රවේශ වන්න**



https://www.youtube.com/channel/UC3qCmfeXF7ZAe_Tbjk6mLgg

https://www.youtube.com/channel/UCJcRYIZm_TovBsSmppjC3-g

Via Sound Cloud
**https://soundcloud.com/user-155125146**

